සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ නවම් මස (ව්‍යවහාරික වර්ෂ 2019 පෙබරවාරි)

90 වෙනි කලාපය



## උතුමන්ට නිගරු කිරීමේ බරපතලකම

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# මරණය

මරණය අදද කවදද කවුරුද දන්නේ
විරසක වනු කුමට ඇයි ගහ බැන ගන්නේ
පරහිත පිණිසමයි වෙහෙසිය යුතු වන්නේ
පරලොව පිළිබඳව නැතුවද අද හන්නේ

පණ නල අනියතය මරණය සහ තිකය
අණ ගුණ මරුගෙ ලොකු පොඩි සැමටම එකය
බණ ඇසු සුදන අදහති නිවනෙහි සුබය
නැණ මඳ දුදන හට හිමි වනු භව දුකය

කාලය ගෙවෙයි මරණය එළඹෙයි ළංව
බෝ අය වෙසෙති දහමට නොඇසුව කන්ව
සීලය නොඅදහන පිරිසක් සිහි සුන්ව
පාපය ගෙවනු ඇත නිරයට පිළි පන්ව

නින්දා බස් දොඩති පර හට කරති විනේ
වංචා සහගතය සිත නැත මිතුරු ගුණේ
හිංසා කරති සතෙකුට වුව නොමැත සෙනේ
තණ්හාවයි සැමට මුල පැහැදිලිය බණේ

සුබ විහරණය තුල සිත ගත මුලාවේ
දුක හට ගැනුම සැපයට ලොබ නිසාවේ
නෙක තතු එවැනි ඇත බුදු බණ කතාවේ
සික පද රකිනු ලොබ නොවඩනු මනාවේ

ගව්තම මුනිඳු වදහළ බුදු බණ සළකා
පව් සිතිවිලිවලට සිත නතු වනු වළකා
සිව් සස් දහම දැන දුක ජය ගෙන නිසැකා
සව් සත මොක් පුරට යති සිඳ මරු බලකා

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම

05

බුදු දහමේ හදවත බඳු සිවු අරිසස් හෙවත් චතුරාර්ය සත්‍යය වටහා ගැනීමෙන් ධර්මාවබෝධය පූර්ණ කරගෙන, මේ ධර්මයේ උසස්ම ප්‍රතිඵල කියන ආර්ය ධ්‍යාන, මාර්ග ඵල ආදී වශයෙන් ලබන්නා වූ උත්තරීතර මනුස්ස ධර්මයන් උදා කර ගන්න නම් ඒ පිළිබඳව හරියාකාර වැටහීමක් තියෙන්න ඕන, අර්ථවත්ව තේරුම් ගැනීමක් තියෙන්න ඕන. ධර්මය ධර්මය හැටියට වටහාගෙන, අර්ථවත්ව වටහාගෙන, ඊට අනුකූලව පිළිපැදීමෙන් තමයි ඒ ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්කම ලැබෙන්නෙ. ඒ නිසා දුක්ඛ ආර්ය සත්‍යය පිළිබඳව මීට පෙර විග්‍රහ කරල දුන්න ආකාරයෙන් තේරුම් ගන්න ඕන. ආර්යන් දකින දුකක් තියෙනවා, ඒ වගේම ලෝක සත්වයා දකින දුකක් තියෙනවා. මේ දෙකම එකක්ද, නැත්නම් කෙබඳුද කියන කාරණය හොඳින් තේරුම් කරල දැනගන්න ඕන.

අබුද්ධෝත්පාද කාලවල, එහෙම නැත්නම් මේ සාසනයෙන් බැහැර උදවියත් ජාති දුකක්, ජරා දුකක්, ව්‍යාධි දුකක්, මරණ දුකක්, අප්‍රියන් සමග එකතු වීමේ දුකක්, ප්‍රියයන්ගෙන් වෙන්වීමේ දුකක්, කැමති යමක් නොලැබෙනව නම් ඒ පිළිබඳව දුකක් දකිනවා. ඒ වගේම උපාදානස්කන්ධ පිළිබඳව යම් ආකාරයක දුකක්, යම් මට්ටමක හෝ වටහා ගැනීමක් පොදු ලෝක සත්වයා අතර සිද්ධ වෙන බව රහසක් නෙවෙයි. ඒක වටහා ගැනීම කොහොමද කියල හොඳින් තේරුම් ගන්න ඕන.

ජාතිපි දුක්ඛා ජරාපි දුක්ඛා ව්‍යාධිපි දුක්ඛා මරණම්පි දුක්ඛං පියේහි විප්පයෝගෝ දුක්ඛෝ අප්පියේහි සම්පයෝගෝ දුක්ඛෝ යම් පිච්චං නලබති තම්පි දුක්ඛං සංඛිත්තේන පඤ්චුපාදානක්ඛන්ධා දුක්ඛා... කියල මේ ආකාරයෙන් පෙළ දහම් වාක්‍ය තුලින් දුක්ඛ ආර්ය සත්‍යය විග්‍රහ කරල පෙන්වනවා. දැන් මේ ටික කියවනකොට, මෙන්න මේකයි දුක්ඛ ආර්ය සත්‍යය කියල තෝරගන්න අපිට පුළුවන්කමක් ලැබුනද? ජාතියද දුකයි, ජරාවද දුකයි... ආදී වශයෙන් මෙහෙම කියනකොට, යම් කිසි දෙයක් දුකද කියන කාරණයෙන් ජරා දුක, ව්‍යාධි දුක, මරණ දුක... ආදී වශයෙන් කියනකොට, බෞද්ධ කියන තත්වයට පත් නොවුන, නැත්නම් ඒ ආර්ය ධර්මය තේරුම් ගත්තෙ නැති සාමාන්‍ය ලෝකයා ඇහුවොත්, ඔය දුක් අපිට වැටහෙන්නෙ නැත්ද කියල, අපි දෙන උත්තරය මොකක්ද? අපිට න්‍යායානුකූලව කියන්න පුළුවන්කමක් නෑ, ඒ අයට මේ ජරා දුක, ව්‍යාධි දුක, මරණ දුක වැටහෙන්නෙ නෑ, ඒවා වැටහෙන්නෙ බෞද්ධයින්ට විතරයි කියල. මොකද ඒ දුක ඒ අයටත් වැටහෙන බව අපිටත් හොඳින්ම පැහැදිලියි.

එහෙනම් මොකක්ද අපි දැකිය යුතු දුක්ඛ ආර්ය සත්‍යය කියන කාරණය හොඳින් තේරුම් ගන්න ඕන. අබුද්ධෝත්පාද කාලයක දුක්ඛ ආර්ය සත්‍යය විද්‍යමාන වෙන්නෙ නැත්නම්, ඒ වගේම මේ බුද්ධ සාසනයෙන් බැහැර දුක්ඛ ආර්ය සත්‍යය විද්‍යමාන වෙන්නෙ නෑ කියල පෙන්වනව නම්, කොහොමද ඒ කාරණය අපි ඔප්පු කරන්නෙ? එහෙනම් ඒ කිව්වෙ මොන දුක්ඛ ආර්ය සත්‍යයද? නිවන් අවබෝධ කරන්න හේතු වෙන්නා වූ යම් දර්ශනයක් දැකිය යුතුද, චතුරාර්ය සත්‍යයක් අවබෝධ කළ යුතුද, අන්න ඒ චතුරාර්ය සත්‍යය හොඳින් දැක්කෙ නැත්නම් නිවන් අවබෝධ වෙනවා කියන කාරණය සිද්ධ වෙන්නෙ නෑ. සමහර වෙලාවට අපි දුක දැකල තියෙනවා කියල රැවටෙන්න පුළුවන්. එහෙනම් අපි කොහොමද හොයාගන්නෙ ආර්යන් දකින දුකේ වෙනස මොකක්ද, ලෝකයා දකින දුකේ වෙනස මොකක්ද කියල.

සමහර වෙලාවට මේ කියන දහම් යථාවබෝධයෙන් වටහා ගන්න බැරිකම නිසා, සාමාන්‍ය ලෝකයාගේ අදහසින් තෝරගන්න යන නිසා, මේ බුදු දහම දුක පෙන්වන ආගමක්... ආදී වශයෙන් කියන සමහර අයගෙ නොයෙක් ආකාරයේ අදහස් තියෙනවා. බුදු දහම සම්බන්ධයෙන් ඒ වගේ සෘණාත්මක අදහසක් ඇති කරවනවා. එහෙනම් හොඳින් තේරුම් අරගන්න ඕන,

දුක්ඛ ආර්ය සත්‍යය තේරුම් ගැනීම බැරෑරුම් දෙයක්, අතිදුර්ලභ දෙයක් කියන කාරණය. ඒ නිසා තමයි මේ බුද්ධ සාසනයේ ආර්ය ධර්මය අහල හේතු වාසනා තියෙන කෙනෙක් තමයි චතුරාර්ය සත්‍යය තේරුම් අරගන්නෙ, අවබෝධ කරගන්නෙ. **බුදු දහම සම්බන්ධයෙන් ලෝක සම්මතයේ දැනඋගත්කම්, උපාධි සහතික කොච්චර තිබුනත් ඒවා තිබුන පළියට චතුරාර්ය සත්‍යය අවබෝධ වෙන්නෙ නෑ.**

මේ සාසනයෙන් බැහැරව දුක්ඛ ආර්ය සත්‍යය වටහාගන්න බෑ කියන කාරණය දැන් හොඳින් තේරුම් ගන්න ඕන. එහෙනම් මොකක්ද ඒ විශේෂ දුක්ඛ ආර්ය සත්‍යය? මෙන්න මේක වටහා ගන්නකොට වැදගත් දහම් කාරණයක් දකින්න පුළුවන්. එක්තරා භික්ෂූන් වහන්සේ නමක් හුදෙකලාව විවේකීව ගහක් මුල වැඩ ඉන්න වෙලාවක එක්තරා තරුණයෙක් ඇවිත් අහනවා, ස්වාමීනි ඔබවහන්සේලා මේ හුදෙකලාව විවේකීව මේ විදිහට රුක්මුල්වලට වෙලා ආරණ්‍යවලට වෙලා ගත කරන්නෙ මොන නිදහසක් බලාගෙනද, මොන යහපතකටද කියල. එතකොට උන්වහන්සේ කියනවා, මේ ලෝකෙ හැමදේම දුකයිනෙ ඒ නිසා තමයි අපි හුදෙකලාව විවේකීව ගත කරන්නෙ කියල. මේ වගේ අදහසක් ප්‍රකාශ කළා. එතකොට මේ තරුණයා, පෙනි පෙනී තියෙන සැප දුකයි කියන මෝඩයො තවත් ඉන්නවද කියල මේ විදිහට අපහාසයක් කරල යන්න ගියා.

මේ කතාව බුදු පියාණන් වහන්සේට දැනගන්න ලැබිල ඒ භික්ෂූන් වහන්සේ ගෙන්වල අහනවා, මහණ ඔබ මෙහෙම දෙයක් කිව්වද, කොහොමද ඒ තරුණයාට උත්තර දුන්නෙ කියල. ස්වාමීනි, මේ සියල්ලම දුකයි ඒ නිසයි අපි වෙන්වෙලා ඉන්නෙ කියල අර අදහසම කිව්වා. එතකොට බුදුන් වහන්සේ අහනවා, මෝඝ පුරුෂය ඇයි එහෙම කිව්වෙ කියල. උන්වහන්සේ නිග්‍රහ කළ යුතු තැන නිග්‍රහ කරල කියන්නෙ කාටවත් අපහාස කරන්න නෙවෙයි, යථාර්ථය පෙන්වා දෙන්න. කරපු මෝඩ වැඩේ පෙන්වල දෙන්න තමයි අර විදිහට ඇහුවෙ. මේ ලෝකෙ ප්‍රිය ස්වභාවයක්, මධුර ස්වභාවයක් නැත්නම් ලෝක සත්වයෝ මේ ලෝකෙට ඇලෙනවද? ඇළුම් කරනවද? ඒ වගේම සැඟවුනු ආදීනවයක් (දුකක්) නැත්නම් මේ ලෝක සත්වයෝ මේ ලෝකෙ අත්හැරල මිදිල නිවන් දකිනවද?

මෙන්න මේ කියන කාරණය මේ ආකාරයෙන් පෙන්වාදීල කිව්වෙ, සියල්ල දුකයි කිව්වොත් බුදු පියාණන් වහන්සේ ඒ කාරණය මූලිකව අනුමත කරන්නෙ නෑ කියන එක. ඒ නිසා හොඳින් තේරුම් ගන්න ඕන, අදත් අපි කාටහරි එක පාරටම පෙන්වා දෙන්න ගියොත්, මේ ලෝකෙ ඔක්කොම දුකයි ඒකයි මේ බුදු දහමෙ හරය කියල, බොහෝ දෙනෙක් නිග්‍රහ කරන්න පුළුවන්, මේ බුදු දහම කියන්නෙ දුක පෙන්වන ආගමක් කියල.

අපි ඉස්සර වෙලාම දැනගන්න ඕන, මහා විද්‍යාඥයෙක් විසින් සත්‍යය දකින මාර්ගයක් පෙන්වා දීල තියෙනවා. එහෙනම් ඒක යම් කිසි ආගමකට සීමා වෙච්ච දෙයක් නෙවෙයි. ආගම් සාස්තෘවරයෙක්ගෙ වචනයකට සීමා කරපු දෙයක් නෙවෙයි. මහා විද්‍යාඥයෙක් දුන්න විද්‍යා සිද්ධාන්තයක් තමයි මේ චතුරාර්ය සත්‍ය සිද්ධාන්තය. ඒ නිසා, මොකක්ද මේ ලෝකයා දකින දුක, ඒ වගේම මේ ආර්යන් දකින දුක ඊට වඩා වෙනස් වෙන්නෙ කොහොමද, ඇයි ඒ ආර්යන් දකින දුක සාමාන්‍ය ලෝකයාට දකින්න බැරි... මෙන්න මේ කාරණා ටික හොඳින් තේරුම් ගන්න ඕන. මේ දුක දැකීම ගැන කියවෙනකොට මේවා විග්‍රහ කරල දැනගන්න ඕන. පාළි පද පෙළට අනුකූල සිංහල පදවල සමහරවිට සුළු වශයෙන් වෙනස්කම් තියෙන්න පුළුවන්. නමුත් දහම් අර්ථයේ වෙනසක් නොවෙන්න වචන පද අමතක කරල අදහසයි ගන්න ඕන.

මේ වෙනකොට අර්ථ තෝරන විදිහට, ජාතිපි දුක්ඛා කියල කියනකොට, ජාතියද දුකයි කියල මේ ආකාරයෙන් තේරුවම, මේ ලෝකයේ විද්‍යමාන සියලුම ජාති දුකයි කියල කිව්වොත්, මේ ලෝකෙ ඔක්කොම දුකයි කියල හිතාගෙන අපි මේ අයින් වෙලා ඉන්නෙ කියල පෙර කියපු භික්ෂූන් වහන්සේ කිව්ව ආකාරයේ අදහසට වැටෙන්නෙ නැත්ද? එතකොට මොකක්ද දෙන උත්තරය? පෙනි පෙනී තියෙන සුව ජාති තියෙද්දි, **ඒවා ඇසුරු කරන්න තියෙද්දි, මේ සියලු ජාති දුකයි කියල කිව්වෙ ඇයි කියල ලෝකයා ඇහුවොත්, ඒක සාමාන්‍ය මනුස්සයාට ගෝචර නොවන, පිළිගන්න බැරි දහමක් වෙනවා.** ඒ විදිහට සියලු ජාති දුකයි කියල බණ කියන්න ගියොත් සියල්ලම දුකයි කිව්ව වගේ කතාවක් වෙනවා.

එහෙනම් මුලදිම අපි දැනගන්න ඕන, දුක්ඛ ආර්ය සත්‍යය වටහල දෙන්න නම්, අනුපූර්වව තේරුම් කරල දෙන්න ඕන. එහෙම නැතිව එකපාරටම සියලු දේම හොඳ නෑ, සියලු දේම නරකයි, සියල්ල දුකයි කියල කිව්වොත් ලෝකයා කැළඹෙනවා. ඒ වගේම පිළිගන්න බැරි තත්වයකට, විස්වාස කරන්න බැරි තත්වයකට, අහන කෙනාට තියෙන මානසිකත්වය අනුව ඒ ඒ අය නිගමනවලට බහිනවා. හරි දේ වටහා ගන්න බැරි වෙනවා.

එහෙනම් මෙතැනදි පද නිරුක්තිය තුලින් දැකගන්න ඕන, ජාතිපි දුක්ඛා කියන වචනෙ අදහස. එතැනදි සමහර වෙලාවට භාෂා නිරුක්තිවලින් පොඩ්ඩක් වෙනස් වෙලා යන්න පුළුවන්. නමුත් අර්ථය මතු වෙලා එන ධර්ම රටාවක් බව පේනවා. මේ විදිහට විග්‍රහ කරගෙන යනකොට, ජාති අපි දුක්ඛා - ජාතිපි දුක්ඛා කියල වචනයට නිරුක්තියක් එනවා.

මොනවද "අපි ජාති" කියන්නෙ? පද නිරුක්ති ගන්නකොට හරි ගැඹුරුයි. **මීට පෙර අපේ සිංහල විශේෂ අට්ඨ කතා තිබුනා. හෙළ අටුවා තිබුනා. ඒවා අද දකින්න නෑ. ඒ නිසා මේ වචනවල පද නිරුක්ති අද වෙනකොට දකින්න බොහොම දුර්ලභයි. ඒ නිසා භාෂා නිරුක්තියට මේක විරුද්ධයි නේද කියල හැඟෙනව නම්, පොඩ්ඩක් ඉවසීමෙන් යුක්තව මේකෙ දහම් අර්ථය කොයි තරම් දුරට ගැබ් වෙලා තියෙනවද, ඒ අර්ථය කොච්චර නිරවුල්ව අපිට තේරුම් ගන්න පුළුවන්ද කියල හොඳින් කල්පනා කරල බලන්න.**

එහෙනම් ජාති අපි දුක්ඛා කියනකොට, ජාති අපි කියන වචන 2 ක් එකතු වෙලා මේ ජාතිපි කියන වචනය හැදිල තියෙන බව දකින්න ඕන. "අපි" කියන වචනයෙන් පෙන්වන්නෙ මොකක්ද? යම් ආකාරයකින් අපි ඉරියාව, අපිරියාව, අප්‍රියාව කියල කියනවා. දැන් අපි දකිනවා, අප්‍රියාව කියන වචනයේ පද නිරුක්තියක්. **යම් කිසි ඉරියව්වක් ප්‍රිය කරන්නෙ නැත්නම්, ප්‍රිය නොකරන ස්වභාවයෙන් යුක්ත නම් ඒ අදහස තමයි අපි + ඉරියව් - අපිරියව් - අප්‍රිය කියන වචනයෙන් මතු කරල දුන්නෙ.** එහෙනම් "අපි ජාති" කියන්නෙ මොනවද? අප්‍රිය ජාති. අප්‍රිය ජාති දුකයි. දැන් මෙතැනදි නම් සාමාන්‍ය ලෝකයාගෙන් ප්‍රශ්නයක් මතු වෙන්නෙ නෑ. මොකද ලෝකයේ ප්‍රිය ජාති විද්‍යමාන වෙනවා, අප්‍රිය ජාති විද්‍යමාන වෙනවා. ඒ කාරණය පැහැදිලියි. දැන් මොනවද ප්‍රිය ජාති, මොනවද අප්‍රිය ජාති කියල ඇහුවොත්?

ලෝක සත්ත්වයා පංච කාම ආස්වාදයන් පිනවමින්, ඒ

## මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම

පංචකාම ආස්වාදයට ගිජු වෙලා, පංච කාම රසාස්වාදය දෙන, ඊට අනුකූල වන්නා වූ යම් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශාදියක් ඇත්නම්, ඒවා ලබා දෙන යම් ද්‍රව්‍ය, වස්තු, සත්ව, පුද්ගල... ආදියක් ඇත්නම්, අන්න ඒ තුල ප්‍රිය මනාපයක් ඇති කරගන්නවා. මොකක් නිසාද? පංච කාම ආස්වාදයට ප්‍රිය කරන ලෝක සත්වයා, යමකින් පංච කාම ආස්වාද ලබා දෙනවද, ඒවා ප්‍රිය වස්තු හැටියට සළකනවා. එහෙනම් ඒ ජාති ප්‍රිය ජාති හැටියට සළකනවා. අන්න ඒ ප්‍රිය ජාතිවලට විරුද්ධ දේවල් තියෙනවද, පංච කාම සම්පත්තියට බාධා කරන දේවල් තියෙනවද, ඒ වගේ දෙයක් දැක්කම ඒවා අප්‍රිය ජාති හැටියට සළකනවා. මේ තමයි සාමාන්‍ය ලෝකයාගේ එක්තරා සළකන ස්වභාවයක්.

එහෙනම් මේ ලෝකය තුල ප්‍රිය ජාති තියෙනවා, අප්‍රිය ජාති තියෙනවා. ඒ තමයි පෘතජ්ජන ලෝකයේ තියෙන ස්වභාවය. නැත්නම් ආර්ය ධර්මය පිළිබඳව දක්ෂතාවයට, ප්‍රගුණතාවයට පත් නොවෙච්ච අය, එහෙමත් නැත්නම් සාමාන්‍ය ලෝ වැසියා, මේ පංච කාම සම්පත්තිය හරි වැදගත්, අන්න ඒ සම්පත්තිය වැඩි හරියක් යමකින් ලබා දෙනවද, ඒ මට්ටමට ඒ වස්තුව ප්‍රියයි, මනාපයි, යහපතයි, මේ ජාති නම් හොඳ ජාති, සුව ජාති කියල මෙහෙම නිගමනයක් ඇති කරගන්නවා.

එහෙනම් ලෝක සත්වයා පළමුව දැකල තියෙන දුකක් තියෙනවා. අප්‍රිය ජාති දුකයි. හැබැයි මෙච්චර කාලයක් අර්ථ තේරුවෙ ජාතියද දුකයි කියල මිසක් ප්‍රිය ජාති, අප්‍රිය ජාති වෙන් කරල අර්ථ දීමක් සිද්ධ වෙලා නෑ. දැන් යම් කිසි ජාතියක් කාටහරි ප්‍රිය ජාතියක් වුනා නම් ඒක කවදාවත් දුකක් කියල නිගමනය කරන්නෙ නෑ. නිගමනය කරල කවුරුහරි කිව්වත්, පුංචි ළමයෙක් රවට්ටන්න, චී පුතේ ඕකෙ කක්ක ගෑවිලා අහකට දාන්න කිව්වම අහකට දානව වගේ, ඔය විදිහට මේ යථාර්ථය දැකල නැතිව රවට්ටල ලෝකයා ඒවායින් අත්හරවන්න බෑ. එහෙම අත්හරින්නෙත් නෑ. ඒ නිසා හොඳින් තේරුම් ගන්න ඕන, යමක යථා ස්වභාවය යථාර්ථයෙන්ම පෙන්වල දුන්නොත්, ඥානවන්තයෝ ඒ යථා තත්ත්වයෙන් වටහාගෙන, මේක බොරු නෙවෙයි, මේක ඇත්තක් කියල මේ විදිහට පිළිඅරගෙන, අත්හැරිය යුත්තක් නම් අත්හැරල දානවා, අරගත යුත්තක් තියෙනව නම් අරගන්නවා. ඒ නිසා මුලදිම මොකද කරන්නෙ?



**යම් දෙයක් ප්‍රිය ජාති නම් එහෙම, ලෝක සත්වයා ඒක අත්හරින්න කැමති නෑ. යම් දෙයක් අප්‍රිය ජාති නම් අත්හරින්න කැමතියි.** අප්‍රිය ජාති අල්ල ගත්තොත් අප්‍රියතාවයටම පත් වෙන්න වෙනවා, දුකකට පත් වෙන්න වෙනවා. එහෙනම් අප්‍රිය ජාති දුකයි කියල පළමුව තේරුම් අරගන්න ඕන. ඒ වගේම ජරාපි දුක්ඛා කියනකොට අප්‍රිය ජරාවක් (වැහැරීමක්) තියෙනවා. දැන් එහෙනම් ප්‍රිය ජරාවකුත් තියෙනවද කියල ප්‍රශ්නයක් එන්න පුළුවන්. අප්‍රිය ජරාවක් තියෙනව නම් ඒක අපිට දුකයි කියල පිළිගන්නවා. ඒ කියන්නෙ ඒ ජරාවට පත් වීමට හෙවත් වැහැරීමට අපි කැමති නෑ. දැන් ප්‍රිය ජරා කියල එහෙම ජාතියකුත් තියෙනවද කියල හිතල බලන්න ඕන. ඒ කියන්නෙ යම් කිසි විදිහකින් අපි ප්‍රිය කරන ජරාවක්, වැහැරීමක් තියෙනවද කියල බලන්න ඕන.

යම් කිසි ආකාරයකින් යම් පංච කාම සම්පත්තියක් ලෝක සත්වයා ප්‍රිය කරනව නම්, අන්න ඒ පංච කාම සම්පත්තිය බොහෝ කරල වැඩි කරල ලබාදෙන යම් කිසි ජාතියක් තියෙනව නම්, ඒවා ලෝක සත්වයා ප්‍රිය ජාති වශයෙන් ගන්නවා. ඒ වගේම ඒ ප්‍රිය ජාතිවල යම් ජරාවකට පත් වීමක්, ඒ ප්‍රිය මනාප තත්වය අප්‍රිය අමනාප තත්වයට පත් වෙලා වැහැරීමක්, වෙනස් වීමක් වෙනව දැක්කොත් මොකද කරන්නෙ? අනේ මේ වටිනා ප්‍රිය මනාප වස්තුව වෙනස් වෙලා යනව නේද, වැහැරිලා යනව නේද කියල ඒ කෙරෙහි දුකක් හට ගන්නවා. එතකොට අප්‍රිය ජරාව දුකයි.

එහෙනම් ප්‍රිය ජරාවකුත් ලෝකෙ තියෙනවද කියල අහන්න පුළුවන්. **අපි අප්‍රසන්න කරන, අප්‍රිය කරන යම් ජාතියක් ලෝකෙ විද්‍යමාන නම්, ඒ ජාතිය නිසා අපිට මහා දුකක් හැටියට, කරදරයක් හැටියට වැටහෙනව නම්, අන්න ඒ තමන් අප්‍රිය කරන ජාතියේ ජරාවට පත් වීමක් ඇත්නම් අපි ඒකෙන් සැනසෙන්නෙ නැත්ද? සතුටු වෙන්නෙ නැත්ද? මේ මහා කාලකණ්ණියා, අසත්පුරිසයා, මගේ වැඩවලට විනාසයට පාර කපන හතුරා මේ ලෝකෙ තවත් යහතින් ඉන්නවා, මට කරදර කරනවා... එහෙනම් අන්න ඒ වගේ හිතාගෙන ඉන්න අප්‍රිය ජාතිකයෙක්ගෙ ජරාවක්, වැහැරීමක් දැක්කොත් මොකද වෙන්නෙ? යන්තම් ඇති පාරෙ යන්න බැරිව හිටියා, මට හූ කිව්වා, ගැහුවා, හිංගි හිංසා කළා, නින්දා අපහාස කළා, දැන් නැගිට ගන්න බැරිව අර පැත්තක වැටිල ඉන්නෙ, යන්තම් දැන් කනක් ඇහිල පාරෙ යන්න පුළුවන්... මේ ආදී වශයෙන් කියල ලෝක සත්වයා සතුටු වෙන්නෙ නැත්ද?**

එහෙනම් අප්‍රිය ජාතියක් ජරාවට පත් වෙනකොට ඒක ලෝක සත්වයා දුකයි කියල නිගමනය කරන්නෙ නෑ. එතැනදි ඒක සැපක් වශයෙන් දකිනවා. එහෙනම් සියල්ල දුකයි කිව්වොත්, එහෙමත් විද්‍යාවක් ලෝකෙ තියෙනවද කියල ලෝක සත්වයා මේ විදිහට නිගරු කරන්න පුළුවන්. ඒ නිසා ඉස්සර වෙලාම, ලෝක සත්වයා මනාප - අමනාප වශයෙන් වෙන් කරන්නෙ මොනවද, කොයි ක්‍රමයක්ද ඒකෙ තියෙන්නෙ, කොහොම කිව්වොත්ද හරි යන්නෙ කියල මෙන්න මෙහෙම දැනගන්න ඕන, තේරුම් ගන්න ඕන.

ව්‍යාධි අපි දුක්ඛා - ව්‍යාධිපි දුක්ඛා. මෙච්චර කාලයක් අර්ථ දුන්නෙ ව්‍යාධියද දුකයි කියල මිසක් මොන ජාතියේ ව්‍යාධිද කියල තේරුවෙ නෑ. අප්‍රිය ව්‍යාධි දුකයි. ප්‍රිය කරන්නෙ නැති ව්‍යාධි දුකයි. මේ විදිහට අර්ථ ගත්තොත් මොකද වෙන්නෙ? එහෙනම් ප්‍රිය ව්‍යාධියක් තියෙනවද? ඒකත් ඉස්සෙල්ල විග්‍රහ කරපු ආකාරයෙන්මයි. **යමක් අපිට අප්‍රිය නම්, පංච කාම සම්පත්තිය ලබා දෙන්න බාධක නම්, ඒවාට විරුද්ධ**

**නම්, ඒ වගේ දේවල් අප්‍රිය කරනව නම්, අන්න ඒවායෙ යම් ව්‍යාධියක්, ලෙඩවීමක් තියෙනව දැක්කොත් ලෝක සත්වයා ඒවට දුක් වෙන්නෙ නෑ. සතුටු වෙනවා.** එහෙනම් මොකක් ව්‍යාධියට පත් වුනොත්ද දුක් වෙන්නෙ? බලාපොරොත්තු වන්නා වූ ආස්වාදය අග්‍ර කරගෙන ඉන්න ඒ පංච කාම සම්පත්තිය ලබා දෙන යම් වස්තුවක් තියෙනව නම්, එබඳු වස්තුවක් ව්‍යාධියට පත් වෙනකොට නම්, අනේ සැප සම්පත් දෙන මෙබඳු වස්තුව ව්‍යාධියට පත් වෙනවා, ලෙඩ වෙනවා කියල, දැන් මේක නවත්ව ගන්න ක්‍රමයක් නැහැනෙ කියල, මෙන්න මේ විදිහට දුක් වීමක් තියෙනවා. ඒක ඔප්පු කරන්න පුළුවන් දෙයක්.

**ඊළඟට කියනවා මරණම්පි දුක්ඛං කියල. අද කියන විදිහට, මරණයද දුකයි කියල කිව්වොත්, හැමදේකම (සියලු දේම) මරණය දුකද කියල ඇහුවොත් එතැනදි ගැටළුවක් එනවා.** මොකද මේවා අහන අද දියුණු ලෝකයේ අය නොයෙකුත් තර්ක වාද ගොඩනගන්න බලනවා. ඒ අය යමක් කිව්ව පළියට පිළිගන්න සූදානම් නෑ. ඒකට හේතු ඉදිරිපත් කරන්න ඕන. ඒ නිසා මෙතැනදි හරි පිළිතුරක් දෙන්න නම් මෙච්චර කාලයක් වැහුනු අර්ථ ක්‍රම, සැඟවිලා තිබුන ක්‍රම දැනගන්න ඕන. **ඒ නිසා මරණම්පි කියන එකත් අප්‍රිය මරණ කියල තේරුම් ගන්න ඕන.** දැන් අප්‍රිය මරණ කියල යමක් තියෙනව නම්, ප්‍රිය මරණ කියල දේකුත් තියෙනවද? ඒක කියන්න දෙයක් නෑ. යම් කිසි පුද්ගලයෙක්ගෙන් තමන් බලාපොරොත්තු වන සුඛය, සැනසුම ලැබෙන්නෙ නැත්නම්, ඊට විරුද්ධ දෙයක්, තමන්ගෙ හිත පෑරෙන දෙයක්, තමන් බලාපොරොත්තු නොවන දෙයක්, මේ ආකාරයෙන් තමන්ට හතුරුකම් කරන දෙයක් තියෙනව නම්, එබඳු දෙයක් හෝ එබඳු කෙනෙක් හෝ මැරිල යනව නම්, එබඳු අවස්ථාවක කෙනෙක් දුක් වෙන්නෙ නෑ. යන්තම් ඇති, කරදරේකින් බේරුනා, මළ කරදරේකින් නිදහස් වුනා කියල මෙහෙම සැනසෙන අවස්ථා ලෝකෙ ඕන තරම් විද්‍යමානයි.

එහෙනම් සියලු මරණ ලෝක සත්වයාට දුකයි කියල කිව්වොත්, ලෝක සත්වයා ඒක විද්‍යානුකූලව පිළිගන්න කැමති නෑ. මොකද ඒක එහෙම නෙවෙයි කියල අත්දැකීමෙන්ම දන්නවා. එහෙනම් මොන මරණයද දුක? අප්‍රිය මරණයක් තියෙනව නම් ඒකෙන් නම් ලෝක සත්වයාට දුකක් එන බව විද්‍යානුකූලව පිළිගන්නවා. ඒකෙ තර්ක කරන්න දෙයක් නෑ. තර්කයෙන් තොරව පිළිගන්න සිද්ධ වෙනවා. තමන් ප්‍රිය කරන්නා වූ දෙයක් මරණයට පත් වෙනව නම් ඒක දුකයි. ආගම් භේදයක්, කුලමල භේදයක්, ජාති භේදයක්... ඒ කිසි දෙයක් නැතිව මේ න්‍යාය ධර්මය පිළිගන්න කැමතියි. අන්න එතැනදි මරණම්පි දුක්ඛං - අප්‍රිය මරණ දුකයි. එහෙනම් අප්‍රිය මරණ වගේම ප්‍රිය මරණ කියල දේකුත් වෙන් කරල තේරුම් ගන්න පුළුවන්.

ඊළඟට පෙන්වනවා, අප්පියෙහි සම්පයෝගො දුක්ඛො කියල. අප්‍රිය කරන ඒවත් එක්ක එකතු වීමයි දුක. පියෙහි විප්පයෝගො දුක්ඛො - ප්‍රිය කරන්නා වූ ඒවායින් වෙන්වීමක් තියෙනව නම් අන්න ඒකත් දුකයි කියන කාරණය න්‍යායානුකූලව පිළිගන්න කැමතියි. ඒ වගේම ඒක සාධාරණ කියමනක් කියල පිළිගන්න කැමතියි. තමන්ට ගෝචරයි කියල පිළිගන්න කැමතියි.

මෙන්න මේ ආකාරයෙන් දුක පෙන්නුවම, යම් පිච්ඡං නලබති තම්පි දුක්ඛං. මොකක්ද මේ කියන්නෙ? යම්පි ඉච්ඡං කියන එක තමයි යම්පිච්ඡං කියල පදයක් වශයෙන් ගොඩනැගිල තියෙන්නෙ. කැමති සේ, ඉච්ඡ සේ යම් කිසි දෙයක් නැත්නම්, ලැබෙන්නෙ නැත්නම් ඒකත් දුකයි කියනවා. දැන් ඒක දුකයි කියල කිව්වම කවුරුත් පිළිගන්න කැමතියි. ඒ න්‍යායට අනුකූලව නම් දුකයි කියන එක ඇත්ත. දැන් මේකට සැපයි කියල කිව්වොත් ඒක පිළිගන්න බැහැනේ. අපි ප්‍රිය කරන්නෙ නැති, බලාපොරොත්තු නොවන, අපිට අවැඩ කරන, අපි බලාපොරොත්තු වන ආස්වාදයට විරුද්ධව යමක් ලැබෙනව නම්, කොහොමද අපිට ඒක සැපක් වෙන්නෙ? අපි ප්‍රිය කරන, මනාප කරන, යහපත් දෙයක් හැටියට අපි පිළිගන්න යම් පංච කාම සම්පත්තියක් දෙන දේවල් (ජාති) අපිට ලැබෙනව නම් ඒ ජාතිවලට අපි කැමතියි. එහෙනම් ඒවා ජරාවට පත් නොවී තියෙනව නම් අපි කැමතියි. ජරාවට පත් වෙනව නම් කැමති නෑ. ඒවා වැහැරෙනව නම් අපි අකමැතියි. වැහැරෙන්නෙ නැත්නම් කැමතියි. ඒවා ලෙඩ නොවී තියෙනව නම් අපි කැමතියි, ලෙඩ වෙනව නම් අපි කැමති නෑ. ඒවා මරණයට පත් වෙනව නම් අපි අකමැතියි. මරණයට පත්වෙන්නෙ නැත්නම් කැමතියි.

මෙන්න මේ ආකාරයෙන් ප්‍රිය, අප්‍රිය කියල දෙකක් වෙන් කරගන්න, අවිද්‍යාවෙන් වැහිල, තෘෂ්ණාවෙන් වෙළිල ඉන්න ලෝක සත්වයාට වැටහෙන දහමක් තියෙනවා. ඒ තමයි මේ ලෝකෙ පංච කාම සම්පත්තිය හරිම ප්‍රියයි, මනාපයි, ශාන්තයි, ප්‍රණීතයි කියන මේ හැඟීම. ඒ හැඟීමෙ ඉන්න ලෝක සත්වයා මොකද කරන්නෙ, යමක් දුකයි කියල නිගමනය කරගත්ත නම්, මොනවද දුකයි කියල නිගමනය කරන්නෙ? තමන් ශාන්ත හැටියට හිතපු ඒ පංච කාම සම්පත්තියට විරුද්ධ යමක් තියෙනව නම් ඒවා දුකයි කියල නිගමනය කරනවා. ඒවාට පක්ෂපාතී යමක් ඇත්නම් ඒවා සැපයි කියල නිගමනය කරනවා.

හැබැයි මෙන්න මේ දුක පිළිබඳ වැටහීම ලෝක සත්වයාට පොදුයි. බෞද්ධ, අබෞද්ධ කියල වෙනසක් නෑ. ජාති කුල ආගම් ගෝත්‍ර කියල වෙනසක් නෑ. කාටත් පොදුවේ තියෙන මෙලොව දුක දකින සිද්ධාන්තයක් ඔය විදිහට විද්‍යමාන වෙනවා. එහෙනම් මේ ක්‍රමය දැකල අපි මොකක්ද කියන්නෙ? අපිට පුළුවන්ද මේක දුක්ඛ ආර්ය සත්‍යයයි කියල නිගමනය කරන්න? මේ ලෝක සත්වයාට වැටහෙන දුකද දුක්ඛ ආර්ය සත්‍යය කියන්නෙ? සාමාන්‍ය ලෝක සත්වයා මේ දුක දකින්නෙ වේදනා චෛතසිකයෙන්. නමුත් දුක්ඛ ආර්ය සත්‍යය අවබෝධ කර ගන්න නම් මේ කාරණය ප්‍රඥා චෛතසිකයෙන් දකින්න ඕන. ඒ නිසා තමයි මේ දහම ඥානවන්තයින්ට විතරක් වැටහෙනව කියන්නෙ. එහෙනම් අපි මෙච්චර කාලයක් දුක්ඛ ආර්ය සත්‍යය කියල, මේව දුකයි කියල කිව්වෙ මොකටද? අපි දුකයි කියල අනුමත කරපු ඒවා ඇත්ත වශයෙන්ම දුක්ඛ ආර්ය සත්‍යය සතුව තියෙන, දුක්ඛ ආර්ය සත්‍යය වශයෙන් අවබෝධ කරන දුකද? ඒකද අපි මේ දුකයි කියල මෙච්චර කල් හිතාගෙන හිටියෙ? දුක්ඛ ආර්ය සත්‍යය දැක්කොත් අනෙක් ආර්ය සත්‍ය 3 ත් දකින්න ඕන. ඒක න්‍යාය ධර්මයක්. ඒ නිසා එකක් විතරක් දකින්න විදිහක් නෑ. ඒ කාරණයත් විග්‍රහ කරගන්න ඕන.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ජීවිතයට පටිච්ච සමුප්පාදයෙන් බිඳක්...



සත්වයා අදහස් හුවමාරු කරගන්න යම් යම් ශබ්ද නිකුත් කරනවා. මුල්ම භාෂාව ඒකයි. ළදරුවා ම්...මා... කියනවා වගේම, වසු පැටියත් ම්... බෑ... කියනවා. ඒකට ජාති, ආගම්, කුල භේද කිසිවක් නෑ. සිංහල ගෙදරකදි ම්... මා... කියන එක පසුව අම්මා වෙනවා. ම්... බෑ... කියපු එක මැරෙන කල්ම ම්... බෑ... තමයි. ඒක වෙනස් කරන්න කෙනෙක් නැති නිසා එහෙම්ම යනවා. වැඩිහිටියන් අනුව, ම්... මා... කියපු එක පසුව අම්මා වුනා. දරුවා අඬන විලාසය අනුව බඩගිනි වෙලාද, නිදිමතද, අසනීපයක්ද... කියල තෝර ගන්න මොන ජාතියක, මොන ආගමක අම්ම කෙනෙකුට වුනත් වැටහෙනවා.

ඒ නිසා මේ වචන පදවලට මූලික වුන හැඟීම් භාෂාවක් තියෙනවා. අතීතයේ දහම් මග ඇසුරේ ජීවත්වුන මිනිස්සුන්ට සතුන් එක්ක අදහස් හුවමාරු කර ගැනීමේ හැකියාවක් තිබුණා. අදත් හීලෑ ඇතුන් එක්ක කතා කරන භාෂාවක් ඇත් ගොව්වන්ට තියෙනවා. ගව පාලනය කරන අයට ඒ ගවයින් එක්ක කතා කරන භාෂාවක් තියෙනවා. ඒ භාෂාවලට ව්‍යාකරණ නීති රීති නෑ. නමුත් තම තමන් කතා කරන භාෂාවෙන් ඒවා ලියන්න පුළුවන්. හරකට එන්න කියන එකට "ඉඳහ්... ඉඳහ්..." කියනවා. දැන් මේක සිංහලෙන් භාෂා ව්‍යාකරණ නීති රීතිවලින් පහදන්න පුළුවන්ද කියල හිතල බලන්න. මෙන්න මේ වගේ **මොන භාෂාවක වුනත් ව්‍යාකරණ නීති රීති එන්න කලින්, වචන පදයට අදාල ක්‍රියාවක් සම්බන්ධ වෙනවා. නිරුක්තිය වෙන්නෙ ඒ ක්‍රියාව.**

අග්ගඤ්ඤ සූත්‍ර දේශනාව අනුව, **ජනයා රංජනය කරන හෙයින් (ක්‍රියාව) රජ කියනවා. මහජනයා විසින් සම්මත කරගත් හෙයින් (ක්‍රියාව) මහා සම්මත කියනවා. ජනයා අතර මැන මැන භූමිය බෙදා දුන් හෙයින් (ක්‍රියාව) මනු කියනවා.** මේ නිසා ලෝකයේ මුලින්ම ඇතිවුන රජ පෙළපත "මහා සම්මත මනු රජ" පෙළපත වෙනවා. මේ අනුව වචන පදයේ උක්තය නිර්ණය වුනේ ක්‍රියාව මුල් කරගෙන. අම්මා දයාව කරුණාව මුල් කරගෙන ගායනා කරන නැළවිලි ගීතය දරුවට සහනයක් වෙලා නැලවෙන්නෙ, ඒ ගීතයේ වචන පද හරහා අම්මගෙ හැඟීම දරුවා කෙරෙහි ක්‍රියාත්මක වෙන නිසා. එතැන පටිච්ච සමුප්පාදයක් ක්‍රියාත්මක වෙනවා. ඒ නිසා වචන පද පාවිච්චි කරන කොට පටිච්ච සමුප්පාදයක් ක්‍රියාත්මක වෙන බව පේනවා. බොරු, කේළාම්, එරුස වචන, හිස් වචන කීම පාපයක්. ඒවායින් ලෝකයාට සිදුවන අසාධාරණය හේතුවෙන්, පටිච්ච සමුප්පාදය ක්‍රියාත්මක වෙලා දුගතියට යන්නත් හේතු වෙනවා.

සමහර තරුණ ළමයි ප්‍රේමයෙන් පරාදවුනාම, දෙමව්පියවැඩිහිටියන්ගෙන් අඩුපාඩුවක් වුනාම ගන්න තීරණ ගැන දෙසැරයක් හිතන්නෙ නෑ. ඒ නිසා ඒ තීරණ ගැන දෙවැනි වරට හිතන්න වෙන්නෙ වැඩිහිටියන්ට. "මම, හැමෝටම තළල පොඩි කරල දාන්න පුළුවන් විදිහෙ මලක් වෙන්නෙ නෑ. මගේ හිත ගල් කර ගන්නවා. තනියම කොහොම හරි නැගී හිටිනවා..." මේ ආදී වශයෙන් කියනවා.

බැලු බැල්මට මේකෙ කිසි වරදක් පේන්නෙ නෑ. ධනාත්මක සිතිවිල්ලක් කියල මනෝ උපදේශකවරුත් කියාවි. නමුත් ධර්මානුකූලව විග්‍රහ කරල බලමු මොකක්ද වෙන්නෙ කියල.

මල්පිපෙන්නෙමොකටද? මල්වලින් කරන්නෙ මොනවද? මල්වලින් කරන්න පුළුවන් මොනවද? ගහක වැලක තරුණ අවදියෙදි ඒ ගස් වැල්වල මල් පිපෙනවා. ඒ පිපුන මල් වටා බඹරුන්, බිඟුන්, කෘමි සතුන් හැසිරෙනවා. ඒ අය මල්වල තියෙන රොන්සුණු, පැණි, මල් පෙති... ආදිය ආහාරයට ගන්නවා. ඒවා අරගන්න මල මත හැසිරෙද්දි මලේ පරාග පෝෂණය කියන සංසිද්ධියක් සිද්ධ වෙනවා. ඒ හේතුවෙන් එබඳුම ගහක් වැලක් හට ගැනීමට හේතුකාරක වන බීජ සකස් වෙනවා. ඒ බීජ මේරීමට පත්වෙලා පසේ තැනින් තැන වැටිල නැවතත් එබඳුම ගහක් වැලක් හට ගන්නවා. මේ විදිහට ගස් වැල්වල මල් පිපෙන්නෙ ලෝකයේ ගස් වැල් පරපුරක් පවත්වාගෙන යන්න. මල් පැණි, රොන්සුණු, මල් පෙති... ආදිය ආහාර කරගෙන ජීවත් වුනා කියල බඹරුන්, බිඟුන්, කෘමි සතුන් මල්වලට ආදරේ කරන්නෙ නෑ. තළල පොඩි කරල තමන්ට අවශ්‍ය දේ ගන්නව විතරයි. ගහක වැලක මලක් පිපුනොත් ඒකට බඹරුන්, බිඟුන්, කෘමි සතුන් එන එක වලක්වන්න මලට පුළුවන්කමක් නෑ. ලෝකයේ ගස් වැල් පරපුරක් පවත්වගෙන යන්න මේ ක්‍රියාවලිය ස්වභාව ධර්මයෙන් පටිච්ච සමුප්පන්නව ක්‍රියාත්මක වෙනවා.

මෙන්න මේ විදිහට අපි මොන යම් හෝ උපතක් ලබනව කියන්නෙ, ගහක වැලක මලක් පිපෙනව වගේ සංසිද්ධියක්. මල පරවෙනව වගේ උපත මරණයෙන් කෙළවර වෙනවා. නමුත් මලේ පරාග පෝෂණය වුනා වගේ, මේ සත්ත්වයා තරුණ වයසෙදි හමුවෙන ආදර බඹරුන්, බිඟුන් කෙරෙහි ගැලපීමෙන් එකතු වෙලා යළි උපතකට හේතු සකස් කරගන්නවා. පරාග පෝෂණය වුනත්, නොවුනත් මල නටුවෙන් කඩල ගහෙන් වෙන් කළොත් ගෙඩි, කරල් හට ගන්න විදිහක් නෑ. ඒ ගස්වැල් පරපුර අවසන් වෙනවා.

ඒ වගේ මේ මුණ ගැහෙන ආදර බඹරුන් කෙරෙහි හදවතින් බැඳුනෙ නැත්නම් යළි උපතකට හේතු හැදෙන්නෙ නෑ. මලක් හැදුනොත් ඒ මල තැලිල පොඩි වෙලා බාහිර උපද්‍රවයන්ට ගොදුරු වීම, මල කැමති වුනත් නැතත් සිද්ධ වෙන ලෝක ධර්මතාවයක් නිසා ඒ දේ එහෙම සිද්ධ වෙනවා. බඹරු එන එක නවත්වන්න මලට බෑ වගේ, උපතක් හට ගත්තොත් තරුණ අවදියක් එනවා. අතරෙදි මරණය නොවුනොත් ආදර බඹරුන් එනවා. මලට බඹරුන්, බිඟුන් වගේ තරුණ තරුණියන්ට ආදරවන්තියන්, ආදරවන්තයන් මුණ ගැහෙනවා. ඒ අය එක්ක

ලෝක සම්මත විදිහට අතිනත අරගෙන දරුවන් හදා වඩා ගත්ත නම් යුතුකම් ඉටු කරමින් ජීවත් වෙන්න සිද්ධ වෙනවා. ඒකෙ ගැටළුවක් නෑ. නමුත් ඒ කවුරුවත් තමන්ගෙ කර ගන්න එපා. සසර ගනුදෙනුකාරයින් හැටියට අවබෝධ කරගෙන තමන්ගෙ යුතුකම් වගකීම් ඉටු කරන්න. හදවතින් බැඳීගෙන, අභිසංඛාර ගොඩනගමින් මතු උපතකට හේතු සකස් කරගන්න එපා. ඔබ තැලෙන පොඩි වෙන මලක් නොවෙන්න නම්, යළි උපතක් එන එක වළක්වන්න ඕන. මේ සසර දුකෙන් මිදෙන ආර්ය මාර්ගය අනුගමනය කරන්න ඕන. පෙර සසරෙදි තැලෙන්න පොඩි වෙන්න හේතු සකස් කරල තිබුණ නිසා තමයි අද ඔබට විපාක වශයෙන් තැලෙන්න පොඩිවෙන්න සිද්ධ වෙලා තියෙන්නෙ.

මල්වලින් කරන්නෙ මොනවද? මල් මාල හදල, ලස්සනට මල් පොකුරු හදල විවිධ ජයග්‍රහණ ලබපු අය පිළිගන්න, විවිධ තනතුරු දරන අමුත්තන් පිළිගන්න භාවිතා කරනවා. ඒකෙන් කියන්නෙ ඔය ජයග්‍රහණ, තනතුරු බොහොම තාවකාලිකයි කියන එක. මේ මල් පොකුරෙ මල් එකිනෙක පරවෙනව වගේ, එකිනෙකා බැඳිල ගොඩනගා ගත්ත ජයග්‍රහණ, තනතුරු තාවකාලිකයි. ඒවා තමන්ගෙන් ගිලිහිලා තවත් කෙනෙකුට යන දවසක් එනවා. ඒ නිසා කම්පා නොවී, උඩගු නොවී තනතුරේ කටයුතු දැහැමින් කරන්න. යම් ජයග්‍රහණයක් ලැබුව නම්, ඊළඟ වසරෙදි ඒක තව කෙනෙක් ජයග්‍රහණය කරාවි. මල් පරවෙනව වගේ, තනතුරු ජයග්‍රහණ කියන්නෙත් පර + වෙන (අන්සතු වෙන) ජාතියක්. මනාලියකට වුනත් කියන්න තියෙන්නෙ, ඔය ලස්සන මල් පොකුර හෙට පරවෙනව වගේ, හෙට ඉඳල බඹරුන් බිඟුන් හොයාගෙන එන ඔබේ තරුණ දිවිය අවසානයි. ස්වාමියා, දරුවො, ඒ අයගෙ ඥාතීන් වෙනුවෙන් (පර + වෙන) ජීවිතය පවත්වන්න වෙනවා. වැඩිහිටි වියට පා තබනවා. ඒ ජීවිතය දැහැමිව, ඇලීම් ගැටීම් දුරු කරගෙන ගත කරන්න.

"මේ අවස්ථාව මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත් වන්නේමය. සියලු අවස්ථාවෝ මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත්වන්නෝමය. සියලු අවස්ථාවෝ මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත්වීම ධර්ම ස්වභාවය කොට ඇත්තාහුය. මුලාවට පත් සත්ත්වයෝ මෙබඳු අවස්ථා යහපතැයි ගෙන ඒ ඒ අවස්ථාවන්හි ඇලී ගැලී වාසය කරන්නාහුය. ප්‍රඥාවන්තයෝ මෙබඳු අවස්ථා නිසරු යයි දැන ඒ ඒ අවස්ථාවන්හි නොඇලෙන්නාහුය, නොබැඳෙන්නාහුය, මිදෙන්නාහුය..."

"මේ අවස්ථාව..." කියන එක මේ තුන් ලෝකයේ පවතින සියලු ජාති ධර්මයන්ට පොදුයි. ගහක අවස්ථා ගත්තම, කුඩා බීජය පසට වැටුනම ජලය, වාතය, හිරු එළිය ආදී පැලයක් උපද්දවන්න අවශ්‍ය සාධක ලැබෙන අවස්ථාව, බීජය මුල් ඇදෙන අවස්ථාව, පැලය වැඩෙන අවස්ථාව, මේරීමට පත්වෙන අවස්ථාව, මල් එල හටගන්න අවස්ථාව... මේ විදිහට අවස්ථා රාශියක් දකින්න පුළුවන්. එයින් සාධක ලැබෙන අවස්ථාව ගත්තම, තවත් කුඩා අවස්ථා විදිහට බීජය පසට වැටෙන අවස්ථාව, ජලය ලැබෙන අවස්ථාව... ආදී වශයෙන් අවස්ථා රාශියක් දකින්න පුළුවන්. බීජය පසට වැටෙන අවස්ථාව ගත්තම බීජ සකස්වන අවස්ථාව, මෝරන අවස්ථාව, මේරූ බීජය සතෙක් ගිල දමන අවස්ථාව හෝ ස්පෝරණය වන අවස්ථාව හෝ පාවෙලා යන්න පුළුවන් ජලයකට වැටෙන අවස්ථාව... ආදී වශයෙන් බීජ ව්‍යාප්ත වන ආකාරයකට පත්වන අවස්ථාව ... ආදී තවත් කුඩා අවස්ථා දකින්න පුළුවන්. මේ විදිහට "මේ අවස්ථාව" කියන්නෙ මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත්වෙන එකක් බව පැහැදිලියි. **ගෙවිල ගිය එක අවස්ථාවක්වත් නැවත උදාවෙන්නෙ නෑ. ඒ කියන්නෙ ඒ අවස්ථාව ගෙවිල වැනසිලා ගිහින්, විනාසයට පත්වෙලා අවසන්.**

සත්ත්වයෙක් ගත්තත් මේ විදිහට මොහොතක් පාසා ගෙවී ගෙවී ගොස් විනාසයට පත්වෙන අවස්ථා ගොඩක සම්පිණ්ඩනයක් විතරයි. මගේ වාහනය, මගේ නිවස, මගේ දරුවො, මගේ රැකියාව... ආදී වශයෙන් මගේ කියල හදවතින් බැඳිල ඉන්න සියල්ලත්, මමත්, මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත්වෙන අවස්ථා ගොඩක සම්පිණ්ඩනයන් විතරයි. මේ යථා තත්වය අවබෝධ කර නොගත්ත සත්වයෝ, ඒවා ස්ථිරව පවතින දේවල් හැටියට විශ්වාස කිරීම මුලාවක්. මුල + ආව හැටි ප්‍රඥාවෙන් දැක්කෙ නැති නිසා, ඒ ඒ අවස්ථා සම්පිණ්ඩන හොඳයි, වටිනව කියල හදවතින් බැඳිල, ඒ ඒ අවස්ථා සම්පිණ්ඩන ඒකීයව අරගෙන, මම කරගෙන, මගේ කරගෙන සංඛාර වඩනවා. නමුත් ධර්මතාවය අනුව ඒ ඒ අවස්ථා විපරිනාමය වෙනකොට දුක දරාගන්න බැරිවෙලා අසහනයට පත්වෙනවා. මේ ධර්මතාවය අවබෝධ කරගෙන ඒ ඒ අවස්ථා (මගේ වාහනය, මගේ පෙම්වතා, මගේ පෙම්වතිය, මගේ දරුවො... ආදී වශයෙන් වන අවස්ථා සම්පිණ්ඩන) නිසරු බව, මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් වැනසිලා යන බව සිහි තබාගෙන නොඇලීමෙන්, නොබැඳීමෙන් ජීවිතය පවත්වාගෙන යන්න.

අපේ ජීවිත පවත්වාගෙන යන ආහාරයත්, ජීවිතයත් ගැන මේ විදිහට හිතල බලන්න. මේ ආහාරය මගේ මුඛයට දමා කෙළ ස්වල්පයක් තැවරුන මොහොතේ පටන් එහි රසයත්, සුවඳත්, වර්ණයත් වෙනස් වෙනවා. දිව මත තැබූ ආහාරය නැවතත් ඉවතට ගත්තොත් ආපසු මුඛයට තබන්න කැමැත්තක් උපදින්නෙ නෑ. පිඟානෙ තිබුන ප්‍රිය මනාපය හෝ සුවඳ වෙනුවට දුගඳත් පිළිකුලත් උපදවනවා. උගුරෙන් පහතට ගිය ආහාරය නොයෙකුත් රසායනයන් එකතු වෙලා, ඇඹරිලා, කැටි ගැහිල ශරීරයට අවශ්‍ය යම් ඕජසක් ඇත්නම් උරාගෙන ඉතිරි කොටස මළ පහ විදිහට පිට කරනවා. මේසය මත තිබුන ප්‍රිය මනාප ආහාරය හැම දෙනාම ඉදිරියේ සිනා මුසු මුහුණින් අනුභව කළත්, ආස්වාදය ලැබීමෙන් පසු ඉතිරිවන රොඩ්ඩ පිට කරන්න සිද්ධ වෙන්නෙ කාටවත් නොපෙනෙන විදිහට සැඟවීගෙන, දුගඳ නිසා මුහුණ හකුලගෙන, තමන්ටම අප්පිරියාවෙන්. ඒ ආහාරයෙන් උරාගත්ත ඕජසින් නිපදවෙන්නා වූ ඇට, මස්, සම්, ලේ, නහර... ආදී ශරීර කොටසුත් එක එකක් වෙන වෙනම අරගෙන බැලුවොත් ලස්සනත් නෑ, සුවඳත් නෑ, ප්‍රිය මනාපත් නෑ. ඒ එකිනෙක ලස්සනත් නැති, සුවඳත් නැති, ප්‍රිය මනාපත් නැති කොටස් එකතු වෙලා හැදිච්ච මේ ශරීරය ලස්සනයි, සුවඳයි, ප්‍රිය මනාපයි, වටිනවා කියන්නෙ මාර මුලාවකට කොටු වෙලා. මගේ කියන ගේ දොර, යාන වාහන, දූ දරුවො... ආදී තමන් ආදරය කරන වස්තු සියල්ල පිළිබඳවත් මේ විදිහට "බෙද බෙදා බලන වත" යොදල බලන්න පුළුවන්. භගවතෝ කියන්නෙ අරිහත්වය පූර්ණ කරගන්න ඕන කරන බුදු ගුණයක්. මේ අවස්ථාවෝ මොහොතින් මොහොත ගෙවී ගෙවී ගොස් විනාසයට පත් වෙනව නම්, ඒවා මගේ කියල තව දුරටත් දරාගෙන සිටීම සුදුසුද, සසර දුකින් මිදීම පිණිස අවශ්‍ය නිසා පරිහරණය කරනවද කියල අවබෝධයෙන් ජීවිතය සකස් කර ගන්න.

## ජීවිතයට පටිච්ච සමුප්පාදයෙන් බිඳක්...



යම් කෙනෙක් යම් කිසි දෙයකට ඇලිල නැත්නම්, බැඳිල නැත්නම්, ඒ පුද්ගලයා එයින් මිදිල, වෙන්වෙලා ඉන්න බව පැහැදිලියි. යම් දෙයකට ඇළුනොත්, ඒ ඇළුන දේට අයිති ගති ලක්ෂණවලින් තමන්ට දුක් කරදර විඳින්න වෙනවා. බේබද්දෙකුට ඇළුනොත් බේබදු ගති ලක්ෂණ අනුව තැබෑරුම්වලට යන්න වෙනවා, සිහි කල්පනාවෙන් කටයුතු නොකටයුතු තෝරා බේරා ගන්න බැරි වෙනවා, පහත් දුරාචාර කටයුතුවලට සම්බන්ධ වෙන්න සිද්ධ වෙනවා. ඒ හේතු නිසා තමන්ට නින්දා අපහාස විඳින්න වෙනවා. **බේබද්දා කියන්නෙ, බීමට බද්ධ වූ කියන අර්ථයෙන්. ඇසෙන් රූප බොන පිරිසක් ඉන්නවා. රූපවාහිනිය විතරක් නෙවෙයි, දැන් ජංගම දුරකථනයත් රූප බොන්න මංපෙත් විවර කරල තියෙනවා. කනෙන් ශබ්ද රූප බොන්න බද්ධ වෙච්ච පිරිසක් ඉන්නවා (ගී ගයන, ගී අහන දෙපිරිසම). මේ විදිහට රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පංච කාමයම මුල් කරගෙන බේබදු වෙච්ච පිරිස අද සමාජයේ අප්‍රමාණයි.** මේ අලුත් රූප බොන මාධ්‍යය මුල් කරගෙන බේබදු වෙලා, පවුල් භේද හින්න වෙලා, දේපළ, දූ දරුවො පවා අහිමි වෙච්ච අය ඉන්නවා. කිසිවකට නොඇලී නොබැඳී ගෙවන මොහොතක නිදහස් සුවය සිහිකරල බලන්න. ඒ අනුව ජීවිතය සකස් කර ගන්න. එතකොට මිදීමෙන් සැනසීම ලැබෙනවා.

බුදුන් පුදන්නත් මල් ගන්නවා. ඒ මල් විදර්ශනාත්මකව පුදල නිවන් දකින වැඩපිළිවෙල හෙළබොදු පියුම 21 වෙනි කලාපයේ විස්තර කරල තියෙනවා. ඒ අනුව, තලන්නෙ පොඩි කරන්නෙ නැතිව, සිසිල් පැනින් දෝවනය කරල, (සද්ධර්මය ශ්‍රවණය කරල) ගෙඩි කරල් හදමින් පරපුරක් ගොඩ නොනගන (යලි භවයකට නොයන), නටුවෙන් කඩපු මලක් වෙලා, (ඡන්ද රාගයෙන් නොබැඳී), බුදු පුදසුන මත නිවී සැනසෙන්න (ධර්ම මාර්ගයේ ජීවිතය ගෙනියන්න). එදිනෙදා ජීවිතයෙදි හමුවෙන අරමුණු කෙරෙහි ඡන්දරාගයෙන් බැඳෙන්නෙ නැතිව, යුතුකම් වගකීම් ඉටු කරමින්, සසර ගනුදෙනු ගෙවාගෙන දැහැමින් ජීවත් වෙන්න.

හිත ගලක් කර ගත්තම වෙන්නෙ මොකක්ද? ගල්වලින් කරන්නෙ මොනවද? ගල් තියෙන්නෙ කොහේද? කෙනෙකුට තනියම නැගී හිටින්න පුළුවන්ද? පුළුවන් නම් ඒ කොහොමද? මහන්තත්තකමින් අඩු නැති, මහ විසාල කළුගල් මහ වනාන්තර මැද්දෙ හුදකලාවම නැගී හිටිනවා, ඈතට වුනත් පේනවා. හුළඟක් ආවට හෙලවෙන්නෙ නෑ. අව්වට, වැස්සට හෙලවෙන්නෙ නෑ. වනාන්තරවල ඉන්නෙ කවුද? අලි, කොටි, වලස්සු, සර්පයො, නරි, ඌරො, ගෝනුස්සො...., ඒ අයට බයේ ජීවත්වෙන හාවො, මුවො, ගෝන්නු... මේ අය ගලට මොකද කරන්නෙ. සමහරු ගලට නැගල පළාතටම ඇහෙන්න සද්ද කරනවා. සිංහයා සිංහ හඬ නගනවා. නරියා නරි හඬ නගනවා. ගල යට ගුහා හදාගෙන ජීවත් වෙනවා. ගලට අයිති හඬක් තියෙනවද? ගලෙන් සද්දයක් එනවද? විවිධ සත්තු ගල මත පහරල යනවා. ගල ඒ එකකටවත් කැමති වුනත් නැතත් ගලට කරන්න දෙයක් නෑ. කොච්චර ලොක්කෙක් වුනත් විඳ දරාගෙන ඉන්න වෙනවා.

ඒ වගේ හිත ගලක් කර ගත්තම අනුන්ගෙ දුක, දුකක් හැටියට සළකන්නෙ නෑ. දුක මත පිහිටපු ලෝකයේ, දුක් විඳින අයගෙ දුකට නොසැලෙන, ප්‍රතික්‍රියා නොකරන පුද්ගලයන්ගෙ දුකට ලෝකෙනුත් පිහිටක් ලැබෙන්නෙ නෑ. හිත ගලක් කරගන්නෙ ලෝභය, ද්වේශය මුල් වෙලා. ලෝභ, දෝස, මෝහ මූලික සිතිවිලි, ක්‍රියා, වදන් තමයි ඒ හිතේ උපදින්නෙ. ඒ නිසා ඒවායේ විපාකත් දුක් සහිතයි. ගලකට මහ වැස්සක් වැස්සත් වතුර රැඳෙන්නෙ, උරාගන්නෙ නෑ වගේ, සිසිල් ජලය වැනි යහපත් අවවාද අනුසාසනාවක් වුනත් පිළිගන්න ඒ හිත කැමති නෑ. අලි, කොටි, වලස්සු, නරි වගේ මහන්තත්තකම, රෞද්‍රකම, කපටිකම වගේ දුසිරිත් තියෙන අය තමයි ඇසුරට එකතු වෙන්නෙ. ඒ එන අය තමන්ගෙන් අයුතු ප්‍රයෝජන ලබා ගන්නවා. නමුත් තමන්ගෙම ලෝභ, දෝස, මෝහ මූලික සංඛාරවල විපාක නිසා, තමන්ට ඒවා වළක්වගන්න බැරි විදිහටයි සැලසුම් සිද්ධ වෙන්නෙ.

ඉර පායල පායල ගල රත් වෙනවා. වැස්ස වැහැල වැහැල ගල සීතල වෙනවා. මිනිස්සු ලොකු කුළුගෙඩිවලින් හයියෙන් ගහල ගල කඩනවා. බෝර වෙඩි දාල ගල කඩනවා. ඒ ගල් කැබලි කරල මහ පාරවල්වලට දානවා. ඒවා උඩින් ලොකු බර වාහන දුවනවා. මහ රළ පහරවල් වළක්වන්න, මුහුදු වෙරළ ආරක්ෂා කරන්න දානවා. නොනැවතී වදින මහ රළ පහරවල් විඳ දරාගෙන ඉන්න ඒ ගල්වලට සිද්ධ වෙනවා. මහ කළු ගලකට වුනත් තැලෙන්න පොඩිවෙන්න සිද්ධ වෙනවා. ඒ වගේ පෙර සසරෙදි හිත ගලක් කරගෙන අනුන්ට කරපු වැරදි අසාධාරණ හිංගි හිංසාවල විපාකත්, අනන්තර - සමනන්තර ප්‍රත්‍ය තුලින් ඇදිල එන්න පුළුවන්. කර්ම විපාක වශයෙන් ඇදිල එන ඒ දුක් ගැහැටවලට ලොකු පොඩි භේදයක් නෑ, විඳ දරාගන්න වෙනවා. කාගෙන්වත් පිළිසරණක් ලැබෙන්නෙ නෑ. සමනන්තරයක් හැදුවෙ නැත්නම්, ධර්මානුකූලව ජීවත් වුනා නම් ඒ දුක් ඇදිල එන්නෙ නෑ.

හෙළබොදු පියුම 87 වෙනි කලාපයේ, පෙර භවයක රජ අණ නිසා හිත ගලක් කරගෙන සතුරු සේනාවේ ඇස්වලට ඊ පහර විදීමේ හේතුවෙන්, විපාක වශයෙන් මුළු ජීවිතයම ඇස් අන්ධ වෙලා දිවි ගෙවන ගුරු මහත්මයෙක් ගැන තොරතුරු සඳහන් වුනා. මේ වගේ සිද්ධි සැරියුත්, මුගලන්... ආදී මහ රහතන් වහන්සේලාත් දේශනා කරල තියෙනවා. පෙළ දහම් පොත්වල එන විමාන වත්ථු, පේත වත්ථු බැලීමෙන් ඒ ගැන දැනගන්න පුළුවන්. අද ඒ වගේ පෙර භව දැකල විපාක කියන්න පුළුවන් දිවැස් ලාභී උතුමන් වහන්සේලා වැඩ හිටියත්, සංසාර මූලාව සත්‍යයම විදිහට පිළිගන්න පිරිස ඒවා සත්‍ය විදිහට පිළි අරගෙන සසර දුකෙන් මිදෙන්න කැමති නෑ. සසර සැපයි කියලම හිතනවා. මෙලොවත් සැප කිය කියා දුක් විඳල පරලොවත් දුගතියටම යනවා, දුකටම වැටෙනවා.

සමාධි පිළිම වහන්සේ නෙළල තියෙන්නෙත් කළු ගලකින්. බුදු පුදට මල් තියන්න මල් ආසන හදන්නත් කළුගල් යොදා ගන්නවා. බුදු සිරිපතුල පිහිටපු සමනල ගිර කියන්නෙත් මහ ගලක්, කන්දක්. ඔබ ගලක් වෙනව නම්, වැඳුම් පිදුම් ලබන ඒ වගේ ගලක් වෙන්න.

සැරියුත් මහ රහතන් වහන්සේ දවසක් පාරෙ වඩිනකොට එක බමුණෙකුට හිතුනා, ඇත්තටම මේ භික්ෂූන් වහන්සේලා මේ කියන තරමටම සිල්වත්ද කියල බලන්න. ඒ නිසා මොකද කළේ, සැරියුත් හාමුදුරුවන්ගෙ පස්සෙන් ගිහින් අතමිට මොළවල පිටට වැරෙන් පහරක් එල්ල කළා. හදිසියෙන්ම බලාපොරොත්තුනැතිවවැදුනපහරනිසා උන්වහන්සේ එහෙම්ම නැවතුනා. ඊළඟ මොහොතේ, ගැහුවෙ කවුද කියල පස්ස හැරිල බලන්නෙවත් නැතුව ඉදිරියට වැඩියා. ඔබේ හිත ගලක් කර ගන්නව නම්, අන්න ඒ වගේ නොසැලෙන, කම්පා නොවෙන, ලෝ සතුන් කෙරෙහි මහා දයා කරුණාවෙන් පිරුණු අරිහත් උත්තම හදවතක් දරාගන්න උත්සාහ කරන්න.

විවිධ පුද්ගලයන්ගේ රාග, ද්වේශ, මෝහ ගති තමා තුළින් විදහාපාන්න ඉඩ සලසන, උතුම් මිනිස් හදවතක ඇසුරක් නැති, වන සතුන් වගේ මිනිස්සු ඇසුරු කරන, අනුන් විසින් කැමති කැමති විදිහට තමන්ගෙ යහ ගුණ කඩා බිඳ දමන ගලක් වෙන්න එපා. මහ සන වනන්තරේ තනිවම විසාල පෙදෙසක් වහගෙන නැගී සිටින ගල් පව්ව කිසිම ගහකට වැලකට සිසිලක් දෙන්නෙ නෑ. හිත ගල් කරගෙන නැගී සිටින මිනිස්සුන්ගෙ හදවතුත් ඒ වගේ. ඒ අයට ළංවෙන කාටවත් සිසිලක් දෙන්න බෑ. පටිච්ච සමුප්පන්නව ගොඩ නැගුන පෙර පැතුමේ හැටියට දැවි දැවී ඉන්න සිද්ධ වෙනවා. ඔබේ හිත මලක් කරගන්නව නම් සිසිල් පැනින් දොවා, ලෝකයේ අනිච්ඡ බව, අනියත බව, අසාර බව මෙනෙහි කරන, බුදු පුදසුන මත පරවෙලා යන දහම් මග ගත් හිත් මලක් කර ගන්න.

“මම තනියම නැගී හිටිනවා...” කිව්වම හිතල බලන්න, ඔබට පිපාසය දැනුනම වතුර ටිකක් බොන්න ලැබෙන්නෙ කොහොමද? ළිඳකින් වතුර බොනව නම් ඔබම ළිඳ කැපුවද? වතුර ගන්න බාල්දිය ඔබම හැදුවද? වතුර බොන භාජනය ඔබම හැදුවද? ඔබට පිපාසයට වතුර ටිකක් බොන්න කී දෙනෙක් මහන්සි වෙලා තියෙනවද? ඔබට බඩගිනි වුනාම බත් ටිකක් කන්න, පිරිසක් කුඹුරු ගොවිතැන් කරනවා. තව පිරිසක් එළවළු පළතුරු වවනවා. තවත් රටක තවත් පිරිසක් දුරු, මිරිස් ජාති වවනවා. තව පිරිසක් ඒ ඒ ජාතිවල අස්වනු නෙළල වෙළඳපොළට එවනවා. ඒවා පිටරටවල්වලින් ගෙන්වන පිරිසක් ඉන්නවා. ගෙදර ඉන්න කවුරු හරි ඒවා ගෙනත් කෑමට සුදුසු විදිහට සකස් කරනවා. ඉවුම් පිහුම්වලට උවමනා විවිධ උපකරණ, වළං, පිඟන් ඔබම සකස් කරගත්තද?

ඔබට විළි වසාගන්න ඇඳුමක් ලැබුනෙ කී දෙනෙක්ගෙ දහදිය මහන්සියෙන්ද? ඒ සඳහා කපු වවන පිරිසක් ඉන්නවා. කපු කටින පිරිසක් ඉන්නවා. ඒ නූල්වලින් රෙදි සකස් කරන පිරිසක්, ඇඳුම් මහන පිරිසක්, ඒවා වෙළඳාම් කරන පිරිසක් ඉන්නවා. ඔබ තනිවම නැගී සිටිනව නම් ඔය සියල්ල ඔබ විසින්ම කරගත යුතුයි. එතකොට පටිච්ච සමුප්පාද ධර්මය ක්‍රියාත්මක වෙලා, නිරුවතින් ඉන්න පුළුවන් තැනක (මහ සන කැළෑවක), අනික් අයට නොපෙනෙන කිරණමය කයකින් (විසාල ගහක්, ගලක් වගේ) භූත අත්බැවක් ලැබෙයි. මුලින් පෙන්නුවා වගේ විසාල වනාන්තරයක විසාල ගල් පව්වකට අරක් ගත්තු, ඕපපාතිකව පහළවෙන ගල් භූතයෙක්, ගහකට අරක්ගත්තු යක්ස ප්‍රේත වගේ පහත් අත්බැවක් ලැබෙයි. තනියම නැගී සිටිනව නම් මව්පියන් ලබන්න හිමිකමකුත් නැති වෙනවා, උපදින්න වෙන්නෙ ඕපපාතිකව.

ඇළකින්, දොළකින් වතුර ටිකක් බීල පිපාසය නිවාගන්නත්, තවත් සතෙක් මරාගෙන කාල, එහෙම නැත්නම් ඉබේ වැව්ච්ච ගහක වැලක කොළ, දළු, මල්, ගෙඩි... ආදියක් කාල නිරුවත්ව ජීවත්වෙන වන සතෙකුට වුනත් වැඩෙන කල් මවගෙ රැකවරණය නැත්නම් ජීවිතය ගොඩනගාගන්න බෑ. මව් රැකවරණය නොලබන සත්තු ගත්තම, ජීවත් වෙන සංඛ්‍යාවට වඩා ළදරු වියේදිම මියයන සංඛ්‍යාව වැඩියි. මේ තමයි ලෝකයේ සාමාන්‍ය ස්වභාවය.

තවත් කෙනෙක් මෙහෙම කියනවා. “මට ඔය කවුරුවත් ඕන නෑ. මම මගේ පාඩුවෙ පැත්තකට වෙලා ඉන්නවා...” කවුරුවත් ඕන නැත්නම් මුලින් කිව්ව වගේ දෙමව්පියො ලබන්න විදිහක් නෑ. ඕපපාතිකව උපදින්න සිද්ධ වෙනවා. ආහාර පාන, වස්ත්‍ර, බේත් හේත්... ආදිය ලබන්න විදිහක් නෑ. පින කියන්නෙ ලාභයක්. පාඩුවේ ඉන්න හිත තියා ගත්තොත් පිනක් කරල අනුමෝදන් කරන්නවත් විදිහක් නෑ. “මගේ පාඩුවෙ...” කියන එකෙන්ම තේරුම්ගන්න ඕන, මම පෙර කළ පින් ඉවර වේගෙන එනවා, වහ වහා මම පින්, කුසල් සම්පාදනය කරගන්න ඕන කියල. පැත්තකට ගියොත් වෙන්නෙ මොකක්ද? පේන්නෙ ඒ පැත්ත විතරයි. මැදට ගියාම වටේම හොඳට පේනවා. මෙලොව, පරලොව, සුගතිය, දුගතිය, ඒ ඒ තැන්වලට යන මාර්ග හොඳට පේනවා. පැත්තක ඉඳගත්තම එහා පැත්ත පේන්නෙ නෑ. මෙලොවින් පරලොවට යන බව වැටහෙන්නෙ නෑ. තමන් වටේ ඉන්න අයට අකමැති නිසානෙ කවුරුවත් ඕන නෑ කියන්නෙ. නමුත් ලෝකෙ හැම තැනම කවුරු හරි පිරිසක් ඉන්නවා. එතකොට පිරිසක් නැති දොර මුල්ලක, අගු පිලක, වැසිකිළි, කැසිකිළි, සොහොන් භූමි වගේ තැනක තමයි ඕපපාතිකව උපදින්න වෙන්නෙ. ඒ නිසා කතා කරනකොට වචන හරි පරිස්සමින් පාවිච්චි කරන්න ඕන.

දුකක් වේදනාවක් ආවම තෙරුවන් සිහි කරන්න කුඩා කාලෙ ඉඳලම පුරුදු වෙන්න ඕන. තමන් අතින් වරදක් වුනාම නිහතමානීව වරද පිළිගෙන වරද නිවැරදි කරගන්න උත්සාහ කරනව මිසක්, අනෙක් අයගෙ වැරදිවලින් මුවා වෙලා, තමන්ගෙ වරද වරදක් නොවන බව පෙන්වන්න උත්සාහ කිරීමෙන් තමන්ටමයි පාඩු වෙන්නෙ. මේ අත්බැව තුල ක්‍රියාත්මක වෙන්නෙ පෙර සසරෙදි වඩනලදකුසල්අකුසල්සංඛාරවලවිපාක. මේ අත්බැව තුල වඩන සංඛාරවල විපාක විඳින්න වෙන්නෙ බොහෝ කොටම මතු භවයක, නැත්නම් මේ අත්බැව තුල දිගු කලකට පසුව. මම කරපු මේ දේ, මම කිව්ව මේ දේ නිසා මට මෙහෙම විපාකයක් ආවා නේද කියල තේරුම් ගන්න නම්, මේ ආර්ය මාර්ගය හොඳින් පුරුදු පුහුණු කරන්න ඕන. නිතර නිතර සද්ධර්මය ශ්‍රවණය කරන්න ඕන. එහෙම තමන්ටම යම් තරමකට හෝ වටහාගන්න පුළුවන් වුන දවසට, මේ සද්ධර්මය මොන තරම් සංදිට්ඨිකද, ඕපනයිකද, පච්චත්තං වේදි තබ්බෝ විඤ්ඤූහීතිද (ප්‍රඥාවන්තයන්ටම වටහාගත හැකියි) කියල මහා චිත්ත ප්‍රසාදයක් ධර්මය කෙරෙහි උපදිනවා. ඒ ධර්මය දේශනා කළ බුදුන් වහන්සේ පිළිබඳව, ආර්ය මහා සංඝ රත්නය පිළිබඳව මහා ගෞරවයක් ශ්‍රද්ධාවක් උපදිනවා. මේ ලිපිය කියවන ඔබ සැම දෙනාටත් ඒ උතුම් ශ්‍රී සද්ධර්ම රත්නය ශ්‍රවණය කරන්න කල්‍යාණ මිත්‍ර සම්පත්තිය ලැබේවා! පටිච්ච සමුප්පාද ධර්මය වැටහේවා!

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**ඩබ්ලිව්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත. 0112901508**

# නිවන් ලැබ දෙන කමටහන්...

10 කොටස



දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මාර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් පෙළක් තමයි මෙවරත් සටහන් කරන්නෙ. උන්වහන්සේ විසින් සමාධියෙන් මතු නොකළත්, ත්‍රිපිටක පෙළ දහමේ එන සමහර වටිනා ගාථාත් කර්මස්ථාන විදිහට සඳහන් කරල තියෙන්නෙ, උන්වහන්සේගේ අවබෝධය සහ අත්දැකීම අනුව ඒවා කර්මස්ථාන වශයෙන් භාවිතා කිරීම තුලින් ඉතා යහපත් ප්‍රතිඵල ලබාගන්න පුළුවන් කියල දේශනා කරල තියෙන නිසා.

සමහර කර්මස්ථාන බැලු බැල්මට බොහෝ දුරට එක හා සමාන වගේ පෙනුනත්, සුළු සුළු වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ පුද්ගලයන්ට ගැලපෙන විදිහට අවස්ථානුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. ඒ වගේම මේ කර්මස්ථානවල සඳහන් සමහර කර්මස්ථාන වාක්‍ය තුන් වතාවක් වඩන්න කියල පොදුවේ සඳහන් කරල තිබුනත්, තමන්ට පහසු විදිහට කැමති වාර ගණනක් වඩන්න පුළුවන්. අනෙක් කර්මස්ථාන වාක්‍යත් එහෙමයි. කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කර්මස්ථාන වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත්පත් කරගන්න පුළුවන්.

216.මම යැයි දෙයක්
මගේ යැයි දෙයක්
මගේ ආත්ම යැයි දෙයක්
ලෝකයෙහි නැත්තේමය
සියලු සත්වයෝ
ලොව්තුරා සුවයෙන්
සුවපත් වෙත්වා.../// 

217.මම යැයි දෙයක්
මගේ යැයි දෙයක්
මගේ ආත්ම යැයි දෙයක්
රූපයෙහි නැත්තේමය
සියලු සත්වයෝ
ලොව්තුරා සුවයෙන්
සුවපත් වෙත්වා.../// 

වේදනා - සංඥා - සංඛාර - විඤ්ඤාණ යන ස්කන්ධවලටත් ඉහත ක්‍රමයම යොදාගන්න.

(මෙහි "නැත්තේමය" යනුවෙන් කියන විට, ඇත - නැත යන අන්ත දෙකට නොවැටී, සාර ලෙස ගන්න දෙයක් නෑ කියන අර්ථයෙන් අදහස ගත යුතුයි.)

218.මේ අවස්ථාව
මොහොතින් මොහොත
ගෙවි ගෙවී ගොස්
විනාසයට පත් වන්නේමය

සියලු අවස්ථාවෝ
මොහොතින් මොහොත
ගෙවි ගෙවී ගොස්
විනාසයට පත් වන්නෝමය

සියලු අවස්ථාවෝ
මොහොතින් මොහොත
ගෙවි ගෙවී ගොස්
විනාසයට පත් වීම
ධර්ම ස්වභාවය කොට ඇත්තාහුය

<u>මුලාවට පත් සත්වයෝ</u>
මෙබඳු අවස්ථා යහපතැයි ගෙන
ඒ ඒ අවස්ථාවන්හි
ඇලී ගැලී රැඳී බැඳී
වාසය කරන්නාහුය

219.මේ අවස්ථාව... (ඉහත පරිදිම
යොදා ගන්න)

<u>ප්‍රඥාවන්තයෝ</u>
මෙබඳු අවස්ථා නිසරු යැයි
(අයහපතැයි) දැන අත්හරින්නාහුය
නොඇලෙන්නාහුය
මිදෙන්නාහුය

220.මේ ආත්ම භාවය
මොහොතින් මොහොත
ගෙවි ගෙවී ගොස්
විනාසයට පත් වන්නේමය

සියලු ආත්ම භාවයෝ
මොහොතින් මොහොත
ගෙවි ගෙවී ගොස්
විනාසයට පත් වන්නෝමය

සියලු ආත්ම භාවයෝ
මොහොතින් මොහොත
ගෙවි ගෙවී ගොස්
විනාසයට පත් වීම
ධර්ම ස්වභාවය කොට ඇත්තාහුය

<u>මුලාවට පත් සත්වයෝ</u>
මෙබඳු ආත්ම භාවයෝ
යහපතැයි ගෙන
ඒ ඒ තැන්හි
ඇලී ගැලී රැඳී බැඳී
වාසය කරන්නාහුය

221.මේ ආත්ම භාවය... (ඉහත පරිදිම යොදා ගන්න)

ප්‍රඥාවන්තයෝ
මෙබඳු ආත්ම භාවයෝ
නිසරු යැයි දැන
අත්හරින්නාහුය
නොඇලෙන්නාහුය
මිදෙන්නාහුය

222.ලෝකයේ යම් ප්‍රිය මධුර ස්වභාවයක් හට ගන්නේද
ඒ සියල්ල වැහැරීම ස්වභාවය කොට ඇත්තෝය
වැහැරීම නොඉක්ම වූවෝය |
මරණ ස්වභාවය කොට ඇත්තෝය
මරණ නොඉක්ම වන්නෝය
නිසරුව ස්වභාවය කොට ඇත්තෝය නිසරුව නොඉක්ම වූවෝය

සියල්ලෝ ප්‍රිය මධුර ස්වභාවයන්හි ඡන්ද රාගයෙන් මිදෙත්වා

223.පහල වන සියල්ල
අනාථයි ///
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි
මිදීම වෙත්වා
නිවනම නාථයි
නිවනම වෙත්වා

224.සම්මා තිසරණ සරණයි
මමද සියලු සත්වයෝද හට ගත් සියල්ලෙන්
නිදහස් වෙත්වා

225.සම්මා සම්බුදු සරණයි
මමද සියලු සත්වයෝ
සියලු දුකෙන් මිදෙත්වා

226.සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක සියලු සත්වයෝ
නිවන් දකිත්වා

227..සැමට සම්මා තිසරණ
සරණ වෙත්වා - නිබ්බාන පරම සුඛයෙන් සුඛිත වෙත්වා

228.මමද සියලු සත්වයෝ
සෝතාපන්න වෙත්වා
සකදාගාමි වෙත්වා
අනාගාමි වෙත්වා
අරිහත් වෙත්වා

229.මමද සියලු සත්වයෝ
සියලු දුකෙන් මිදෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

230.මේ ලෝකයේ සියලු සත්වයෝද මමද
සංසාර රෝගයෙන් මිදෙත්වා

231.හිංගි හිංසා කරන සියලු සත්වයෝද මමද
සංසාර රෝගයෙන් මිදෙත්වා

232.සම්මා සම්බුදු සරණයි
සියල්ලද සියල්ලෝද
ලෝභ අඳුරෙන් මිදෙත්වා
ද්වේශ අඳුරෙන් මිදෙත්වා
මෝහ අඳුරෙන් මිදෙත්වා
නිවන් සුවයෙන් සුඛිත වෙත්වා

233.සම්මා සම්බුදු සරණයි
පංචස්කන්ධ අනිච්චයි දුක්ඛයි
අනත්තයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි
(සක්මනට යෝග්‍යයි)

234.මට එන්න එපා රාග ගිනි
මට එන්න එපා ද්වේශ ගිනි
මට එන්න එපා මෝහ ගිනි
මට එන්න එපා එකොළොස් ගිනි
සියලු ගිනි නිවේවා
නිවන් සුව ලැබේවා

235.සම්මා සම්බුදු සරණයි
සියලු ලෝක සියලු සත්වයෝ
නිදුක් වෙත්වා
නිරෝගි වෙත්වා
සුවපත් වෙත්වා
දුකින් මිදෙත්වා
සෘද්ධිවිධ වෙත්වා

236.සබ්බේ සංඛාරා අනිච්චාති
යදා පඤ්ඤාය පස්සති
අත නිබ්බින්දති දුක්ඛේ
ඒස මග්ගෝ විසුද්ධියා
සබ්බේ සංඛාරා දුක්ඛාති
යදා පඤ්ඤාය පස්සති
අත නිබ්බින්දති දුක්ඛේ
ඒස මග්ගෝ විසුද්ධියා
සබ්බේ ධම්මා අනත්තාති
යදා පඤ්ඤාය පස්සති
අත නිබ්බින්දති දුක්ඛේ
ඒස මග්ගෝ විසුද්ධියා

(සියලු සංඛාර අනිච්ච බව, දුක්ඛ බව, සියලු ධර්ම අනාථ බව ප්‍රඥාවෙන් දකීද, එවිට දුකෙහි නොබැඳේ. එය නිවනට, විසුද්ධියට මාර්ගයයි.)

237.සබ්බේ පි මේ පියේහි මනාපේහි
නානා භාවෝ විනා භාවෝති
සියලු ප්‍රිය මනාපයෝ නොයෙක් නොයෙක් භාවයට පත් වේ
විපරිනාම වේ
වැනසේ විනාස වේ

238.දුක්ඛප්පත්තාච නිද්දුක්ඛා
භයප්පත්තාච නිබ්භයා
සෝකප්පත්තාච නිස්සෝකා
හොන්තු සබ්බේපි පාණිනෝ

(දුකින් පෙළෙන සත දුකින් මිදෙත්වා, බයෙන් පෙළෙන සත බය නැති වෙත්වා, සොවින් පෙළෙන සත සොමිනස් වෙත්වා, නිතින් මෙ හැම සත සුවපත් වෙත්වා)

239.සබ්බ පාපස්ස අකරණං
කුසලස්ස උපසම්පදා
සචිත්ත පරියෝදපනං
ඒතං බුද්ධාන සාසනං

240.**දෙතිස් කුණප කොට්ඨාසය (අසුභය)**
කේසා ලෝමා නඛා දන්තා තචෝ
තචෝ දන්තා නඛා ලෝමා කේසා
මංසං නහාරු අට්ඨී අට්ඨිමිඤ්ජා වක්කං
වක්කං අට්ඨිමිඤ්ජා අට්ඨී නහාරු මංසං
හදයං යකනං කිලෝමකං පිහකං පප්ඵාසං
පප්ඵාසං පිහකං කිලෝමකං යකනං හදයං
අන්තං අන්තගුණං උදරියං කරීසං පිත්තං
පිත්තං කරීසං උදරියං අන්තගුණං අන්තං
සෙම්හං පුබ්බෝ ලෝහිතං සේදෝ මේදෝ
මේදෝ සේදෝ ලෝහිතං පුබ්බෝ සෙම්හං
අස්සු වසා කේලෝ සිංඝානිකා ලසිකා මුත්තං මත්තලුංගන්
මත්තලුංගන් මුත්තං ලසිකා සිංඝානිකා කේලෝ වසා අස්සු

කේසා... මත්තලුංගන්
මත්තලුංගන්... කේසාති

241.ඛයං විරාගං අමතං පණීතං
යදජ්ඣගා සක්‍ය මුනී සමාහිතෝ
නතේන ධම්මේන සමත්ථි කිඤ්චි
ඉදම්පි ධම්මේ රතනං පණීතං
ඒතේන සච්චේන සුවත්ථි හෝතු

ඛයං - ක්‍ෂය භාවයට පත් වීම. රාගක්ඛය, ද්වේශක්ඛය, මෝහක්ඛය මේ මගින් කියවෙනවා. ලෝකය පහත්

සේ දැක රාග, ද්වේශ, මෝහ ක්‍ෂය කරන පැත්තට ආර්යෝ එකතු වෙනවා.

විරාගං - කාම රාග, රූප රාග, අරූප රාග නැත්නම් රූප රාග, ශබ්ද රාග, ගන්ධ රාග, රස රාග, ස්පර්ශ රාග නැති තැන විරාගයි.

අමතං - පැවැත්ම තුල ඇති සියල්ල මරණයට පත් වෙනවා. නිවන තුල මරණයක් නැති නිසා අමත නම් වෙනවා.

පණීතං - දාහ ගිනි දෙන සියල්ල අප්‍රණීතයි. දාහ ගිනි නොදෙන නිවන ප්‍රණීතයි.

බයං විරාගං අමතං පණීතං - මේ වචනවලින් කියවෙන්නෙ නිවනේ ස්වභාවය.

යදජ්ඣගා සක්‍ය මුනී සමාහිතෝ - ජ කියන්නෙ ජනිත වීම. අජ්ජ කියන්නෙ ජනිත වීමක් නැති. යම් ජනිත වීමක් නැති තත්වයක් ඇත්ද, සාක්‍ය මුනීන්ද්‍රයන් වහන්සේ එතැනට සමාහිත වී වැඩ වසනවා.

නතේන ධම්මේන සමත්ථි කිඤ්චි - මේ ධර්මතාවය තරම් වටිනා අන් කිසිවක් නෑ.

ඉදම්පි ධම්මේ රතනං පණීතං - මේ නිසා ධර්ම රත්නය ප්‍රණීත රත්නයක්.

ඒතේන සච්චේන සුවත්ථි හෝතු - ඒ සත්‍යයෙන් යහපතක් වේවා.

**රෝග බය, අමනුස්ස බය, දුර්භික්‍ෂ බය කියන තුන් බියම මේ මගින් දුරු කරගන්න පුළුවන්. කමටහනක් වශයෙන් නිතර වඩන්න ඉතා හොඳයි. ලක්‍ෂ වාරයක් වැඩුවොත් ඉතා බලසම්පන්නයි.**

(සෙත් ලැබීමට මෙය විනාඩි 20 ක් පමණ වඩල පසුව භාවනා කරන්න.)

242.ආරෝග්‍යා පරමා ලාභා
සන්තුට්ඨී පරමං ධනං
විස්වාසා පරමා ඥාති
නිබ්බානං පරමං සුඛං

(භව රෝගයෙන් වෙන්වීම පරම ලාභයයි. "සං" හෙවත් එකතු වෙන ධර්මවලින් මිදීමෙන් ඇතිවන සතුට පරම ධනයයි. කෙළෙස් වාසයෙන් වෙන් වීම පරම ඥාතිත්වයයි. නිවන පරම සැපයයි.)

243.ඒතං සන්තං ඒතං පණීතං
යදිදං සබ්බ සංඛාර සමථෝ
සබ්බූපදි පටි නිස්සග්ගෝ
තණ්හක්ඛයෝ විරාගෝ
නිරෝධෝ නිබ්බානංති

(සියලු සංඛාරයන්ගේ සංසිඳීමක් වේද, සියලු උපාදානයන්ගේ නොබැඳීමක් වේද, තණ්හාවේ ක්‍ෂය වීමක් වේද, විරාගයක් වේද, උදා නොවීමක් වේද, බැඳීමෙන් වෙන්වීමක් වේද, එයම ශාන්තයි එයම ප්‍රණීතයි.)

ඒ වගේම පසුගිය කලාපයෙන් හඳුන්වා දුන් අණවින, කොඩිවින ආදිය සුනු විසුනු කිරීමට ගන්නා කර්මස්ථාන පෙළත් එක්ක යොදා ගන්න පුළුවන්, විශේෂයෙන් අංක 186 සහ 213 කර්මස්ථානවලට සමාන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ අත්දැකීම් සහිත තවත් ප්‍රබල කර්මස්ථානයක් පහතින් සටහන් කරනවා. මුලින්ම පසුගිය කලාපයෙන් සඳහන් කළ, සම්බුද්ධෙ අට්ඨ වීසංච... කියන ගාථාව කියල මේ කර්මස්ථානය වඩන්න පටන් ගන්න.

**ඒ වගේම තමන්ගෙ ශරීරයට යම් කිසි අණවින බන්ධන, ඉනා බන්ධන... ආදී දෝසයක් තියේ නම්, තමන්ගෙ වත්ත පිටියට මොනවහරි භූමි දෝසයක් කරල තියෙනව නම්, ගස්කොළන්වලට කෘමි රෝග, පණු රෝග... ආදිය තියේ නම්, ළමයින්ට ඇස්වහ කටවහ දෝස තියේ නම්, සම්බුද්ධෙ අට්ඨ වීසංච... කියන ඉහත ගාථාවෙන් පසු මේ කර්මස්ථාන ගාථාවෙන් 108 වරක් හෝ 7, 14, 21... වශයෙන් තමන්ට පුළුවන් මට්ටමක් සෙත් කරල ජලය, වැලි, සුවඳ දුම්, තෙල්, බෙහෙත්... ආදිය සෙත් කරගෙන ඒවා වත්ත පිටියට, ගස්කොළන් ආදියට ඉහින්නත්, පානය කරන්න ගන්නත් පුළුවන්. තමන්ගෙ භූමි ස්ථානවල දොස් කැපෙන්න ඒ තෙල්වලින් පහන් පත්තු කරන්න පුළුවන්. දිගටම කරගෙන යනකොට කපන්න බැරි කොඩිවින පවා කැපිල යනවා.**

**හැබැයි මේකෙන් අනුන්ගෙ දොස් කපන්න යන්න එපා. මේ දහම අහල නැති, ඒ විශේෂ සෙත් පූජා, පුණ්‍යානුමෝදනා ආදියට සම්බන්ධ නැති අයට කරන්න ගියොත් ඒ අයගෙ තදබල අමනුස්ස කොටස් ඇවිස්සිලා ඒ දොස් තමන්ටත් එන්න පුළුවන්. ඒ අයට අවශ්‍ය කරන දොළ පිදේනියක් හෝ පුණ්‍යානුමෝදනාවක් හෝ නොදී ඒ වගේ දෙයක් කරන්න ගියොත් ඒ කරපු අයටත් දොස් එනවා. නමුත් මේ දහම ඇසුරු කරන අයට නම් ඥාති බත, සාංඝික දාන, විශේෂ පුණ්‍යානුමෝදනා... ආදිය සිද්ධ කරල, අනන්ත සසර පටන් එන ඥාති මිත්‍රාදීන් සියල්ලන්ටම පුණ්‍යානුමෝදනා කරල ඒ සම්බන්ධය තියෙන නිසා ඒ අමනුස්ස ආදී කොටස් කැමැත්තෙන්ම නිදහස් වෙලා යනවා. නමුත් එහෙම සම්බන්ධයක් නැති අයට, ඒ වගේ පුණ්‍යානුමෝදනා ආදියට සම්බන්ධ නොවෙච්ච අයට කරන්න ගියොත් ඒ කරපු අයටත් නැති කරදර ඇතිවෙන්න පුළුවන්.**

ඒ නිසා තමන්ට සහ තමන්ගෙ අයට විතරක් කරගන්න. එහෙම සම්බන්ධ නොවෙච්ච අය, පුළුවන් තරම් ඒ වගේ දාන මාන, පුණ්‍යානුමෝදනා ආදියට සම්බන්ධ වෙලා තමන්ම කරගන්න. විශේෂයෙන් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ දැනටත් පසළොස්වක, අමාවක පොහොය දිනවල විශේෂ පුණ්‍යානුමෝදනාවත්, සමහර සෙනසුරාදා දිනවල විශේෂ පුණ්‍යානුමෝදනාව සහ ආශිර්වාද පූජාවත් සිද්ධ කෙරෙන නිසා ඒවාට සම්බන්ධ වෙලා ඒ ශක්තිය ගොඩනගා ගන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා ආදිය පැවැත්වෙන වෙනත් පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ ශක්තිය ගොඩනගා ගන්න.

මේ තමයි ඒ කර්මස්ථානය.

**244.සබ්බ බුද්ධානු භාවේන**
**සබ්බ ධම්මානු භාවේන**
**සබ්බ සංඝානු භාවේන**
**සබ්බ වින හිර බන්ධන**
**සබ්බ මාර හිර බන්ධන**
**සබ්බ නීච කුල හිර බන්ධන**

**ඡේදන ඡේදන ඡේදන ඡේදනෙ**
**ඡේදන ඡේදන ඡේදනා**

(මෙහි 7 වන කොටස "ඡේදනා" කියල ඇදල අවසන් කළ යුතුයි.)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# වරද්දන බුදු බණ

## උතුමන්ට නිගරු කිරීමේ බරපතලකම

05 කොටස

**පෝරාණමේතං අතුල**
**නේතං අජ්ජතනාමිව**
**නින්දන්ති තුන්හිමාසීනං**
**නින්දන්ති බහු භාණිනං**
**මිතභාණිනම්පි නින්දන්ති**
**නත්ථි ලෝකේ අනින්දිතෝ**

**න චාහු නච භවිස්සති**
**න චේතරහි විජ්ජති**
**ඒකන්තං නින්දිතෝ පෝසෝ**
**ඒකන්තං වා පසංසිතෝ**

(ඛුද්දක නිකාය, ධම්ම පදය - ක්‍රෝධ වග්ග 7, 8 ගාථා)

තථාගතයන් වහන්සේ මේ ගාථා දේශනා කළේ අතුල කියන උපාසකතුමාට. ඔහු වාසය කළේ සැවැත් නුවර. පන්සීයක් පමණ උපාසක පිරිසකුත් ඔහුට හිටියා. දවසක් මේ උපාසකතුමා තමන්ගෙ පිරිසත් එක්ක බණ අහන බලාපොරොත්තුවෙන් රේවත කියන හාමුදුරුවො මුණගැහෙන්න ගිහින් වන්දනා කරල පැත්තකින් වාඩි වුනා.

රේවත හාමුදුරුවො කියන්නෙ සාරිපුත්ත මහ රහතන් වහන්සේගෙ එක් කුස උපන් සහෝදරයෙක්. උන්වහන්සේ ආරණ්‍යවාසී භික්ෂූන් අතර අග තනතුර ලබාගෙන හිටපු මහා ශ්‍රාවකයන් වහන්සේ නමක්. ඒ වගේම ඉතාම විවේකකාමීව හිටපු, සිංහයෙක් වගේ හුදෙකලාව වාසය කරපු තෙරුන් වහන්සේ නමක්. ඒ නිසා අතුල උපාසකතුමා ඇතුළු පිරිස තමන් වහන්සේ මුණගැහෙන්න ඇවිත් හිටියත් ඔවුන් සමග කිසිවක් කතා කරන්නෙ නැතිව නිහඬව හිටියා. දැන් උපාසකුමා, මේ හාමුදුරුවො අපිත් එක්ක කතා කරන්නෙවත් නෑ කියල කෝපයට පත් වෙලා එතැනින් නැගිටල යන්න ගියා.

අද කාලෙ වුනත් හාමුදුරුවො නමක් මුණගැහෙන්න ආපු වෙලාවක මොකවත් කතා කරන්නෙ නැතිව නිහඬව හිටියොත් එහෙම, මේ හාමුදුරුවො මහා අහංකාර කෙනෙක් කියල මූණට කිව්වෙ නැතත් හිතෙන් හරි බැන බැන යන්න පුළුවන්. ලෝකයේ එදත් අදත් කවදත් ස්වභාවය ඔහොම තමයි.

අතුල උපාසකතුමා ඇතුළු පිරිස රේවත හාමුදුරුවො කෙරෙහි නොසතුටින් එතැනින් පිටත් වෙලා ධර්ම ශ්‍රවණය කරන අදහසින් සැරියුත් මහ රහතන් වහන්සේ මුණගැහෙන්න ගියා. එතකොට සැරියුත් හාමුදුරුවො ඇහුවා, උපාසකතුමා මොකටද ආවෙ කියල. ස්වාමීනි, මම මේ පිරිසත් එක්ක බණ ටිකක් අහන්න කියල හිතාගෙන රේවත හාමුදුරුවො ළඟට ගියා, උන්වහන්සේ අපිත් එක්ක කිසිවක් කතා කළේ නෑ, ඒ නිසා හිතේ ඇතිවෙච්ච කේන්තියත් එක්ක බණ ටිකක් අහන බලාපොරොත්තුවෙන් ඔබවහන්සේ මුණගැහෙන්න ආවා.

මේ විදිහට කිව්වම, සැරියුත් හාමුදුරුවො අභිධර්මය විග්‍රහ කරමින් ඒ පිරිසට ධර්මය දේශනා කළා. මුන්නාන්සේ අභිධර්මය දෙසා බානවා, මේ ගැඹුරු බණ අපිට තේරෙන්නෙ නෑ කියල, උන්වහන්සේ එක්කත් අමනාප වෙලා තරහෙන් අතුල උපාසකතුමා තමන්ගෙ පිරිසත් එක්ක නැගිටල යන්න ගියා. ඊළඟට ගියේ ධර්ම භාණ්ඩාගාරික ආනන්ද හාමුදුරුවො මුණගැහෙන්න. ස්වාමීනි, අපිට අවබෝධ කරගන්න පුළුවන් විදිහට ධර්මයක් දේශනා කරන්න කියල ඉල්ලා හිටියට පස්සෙ, ආනන්ද හාමුදුරුවො ඒ පිරිසට පහසුවෙන් තේරුම් ගන්න පුළුවන්, වැඩිය ගැඹුරු නැති සරල ධර්මයක්, වැඩිය දීර්ඝ දේශනාවක් නොවෙන විදිහට පැහැදිලි කළා. ඒ බණ සරල වැඩියි, පොඩි ළමයින්ට වගේ ඉතා සුළුවෙන් බණ කිව්ව කියල ආනන්ද හාමුදුරුවො එක්කත් කෝපය ඇති කරගෙන එතැනින් පිටත් වෙලා තථාගතයන් වහන්සේ මුණගැහෙන්න ගිහින් මෙතෙක් සිද්ධ වෙච්ච සියලු විස්තර දැනුම් දුන්නා.

අතුල උපාසකතුමාගෙ කතාව අහගෙන හිටපු තථාගතයන්

වහන්සේ, ඉහතින් සඳහන් කළ ගාථා දේශනා කළා. අතුල, මේ නින්දා ප්‍රසංසා කියන ධර්මතාවය පෙර ඉඳල ලෝකයේ පවතින දෙයක්. නිහඬව හිටියත් ගරහනවා. බොහෝ කොට කිව්වත් ගරහනවා. ටිකක් කිව්වත් ගරහනවා. **ඒකාන්තයෙන් ගැරහුම් ලබන කෙනෙක් හෝ ඒකාන්තයෙන් ප්‍රසංසා ලබන කෙනෙක් හෝ ලෝකයේ නෑ.**

ඇතැම් කෙනෙක් රජුන්ටත් ගරහනවා. තව කෙනෙක් ඒ ගැරහුම් ලබන රජුන්ට ප්‍රසංසා කරනවා. මහ පොළවට, ඉර හඳට, අව්වට, වැස්සටත් ලෝකයා ගරහනවා. යම් පිරිසක් මැද ධර්ම දේශනා කරන තථාගතයන් වහන්සේටත් ඇතැම් අය ගරහනවා. තව ඇතැම් අය ප්‍රසංසා කරනවා. කාලයක නින්දා කරපු අයට තවත් කාලයක ප්‍රසංසා කරනවා. කාලයක ප්‍රසංසා ලැබුනු කෙනා තවත් කාලයක නින්දා ලබනවා. නුවණ නැති මෝඩ මිනිස්සුන්ට නින්දාව ප්‍රසංසාව කියල දෙකක් නෑ. ඔවුන්ට නින්දාවත්, ප්‍රසංසාවත් දෙකම එකයි. ඔවුන් ගැරහිය යුත්තා කවුද කියල දන්නෙ නෑ. පැසසිය යුත්තා දන්නෙත් නෑ. ගැරහිය යුත්තාට ප්‍රසංසා කරනවා. පැසසිය යුත්තාට ගරහනවා. මේක මෝඩ මිනිස්සුන්ගෙ ස්වභාවයක්. නුවණැති අය නම් එහෙම වෙන්නෙ නෑ. නුවණැත්තන් යමකට ගරහනව නම් ඒක ගැරහිය යුත්තක්මයි. ප්‍රසංසා කරන දෙයක් නම්, ඒක ප්‍රසංසා කළ යුතු දෙයක්මයි. මේ විදිහට තථාගතයන් වහන්සේ අතුල උපාසකතුමා ඇතුළු පිරිසට ධර්ම දේශනා කළාම, පන්සීයක් උපාසක පිරිස සෝවාන් මග ඵල අවබෝධ කරගෙන නියත ගති ඇතිව සතර අපායෙන් නිදහස් වුනා.

වර්තමාන යුගය කියන්නෙ, කළ්‍යාණ මිත්‍ර සත්පුරිස උතුමන්ට, උතුම් ශ්‍රී සද්ධර්මයට නින්දා අපහාස අවලාද කවදාටත් වඩා ලැබෙන කාලයක් කියල කිව්වට වැරැද්දක් නෑ. සම්මා දිට්ඨිය කියන්නෙ මොකක්ද, මිත්‍යා දෘෂ්ටිය කියන්නෙ මොකක්ද, අසත්පුරිසයා කවුද, සත්පුරිසයා කවුද, මිත්‍යා දෘෂ්ටික බණ කියන්නෙ මොනවද, සාසනය වනසන කඳ පණුවන් කවුද කියල බොහෝ ගිහි පැවිදි අයට අද හඳුනගන්න බැරිවෙලා තියෙනවා.

වසර දහසකටත් අධික කාලයක් ප්‍රතිරූපකවලින් වැහිල ගිය උතුම් ශ්‍රී සද්ධර්මය මේ යුගයේ නැවත විවෘත වෙලා තියෙනවා. **"තථාගතප්පවේදිතෝ භික්ඛවේ ධම්ම විනයෝ විවටෝ විරෝචති නෝපටිච්ඡන්නෝ"** කියන ශ්‍රී මුඛ බුද්ධ දේශනාව අනුව, ධර්මය විවෘත වුනොත් බබලනවා, වැහිල ගියොත් බැබලීමක් වෙන්නෙ නෑ.

**ඒ විදිහට කාලෙකට පස්සෙ විවෘත වෙලා තියෙන ධර්මයටත්, ඒ ධර්මය මතු කළ උතුමන්ටත් වගේම ඒක දේශනා කරගෙන යන කල්‍යාණ මිත්‍ර සත්පුරිස උතුමන්ලාටත්, මිත්‍යා දෘෂ්ටික බණ පතුරවන්නන් කියමින් නින්දා අපහාස කිරීම් වගේම නොයෙක් ගැහැටවලට මුහුණ දෙන්නත් සිද්ධ වෙලා තියෙනවා.** මේවායේ යථාර්ථය නොදන්න සමහර ගිහි පැවිදි පිරිස්, ඒ උතුමන්ට නිගරු කරමින් මහා සාවද්‍ය අකුසල් රැස් කරගෙන විනාසයට පාර කපා ගන්න තත්ත්වයකුත් වර්තමානයේ උදා වෙලා තියෙනවා.

පුද්ගලයන් ගැන හරියට නොදැන අපවාද කිරීම ආර්ය උපවාදයන් පවා සිද්ධ වෙන්න හේතු වෙනවා. අ. නි. (2) 7 වෙනි පිටුවේ එන <u>පඨම ඛත සූත්‍රයේ,</u> **නොදැන හරියට පරීක්‍ෂා කරන්නෙ නැතිව, ගුණ නොකිය යුත්තාගේ ගුණ කියනවද, නොදැන පරීක්‍ෂා කරන්නෙ නැතිව ගුණ කියන්න ඕන කෙනාගේ අගුණ කියනවද, නොදැන පරීක්‍ෂා කරන්නෙ නැතිව, නොපැහැදිය යුතු තැන පැහැදෙනවද, පැහැදිය යුතු තැන පහදින්නෙ නැත්ද, මේ කාරණා හතරෙන් යුක්ත අව්‍යක්ත අසත්පුරිස වූ බාලයා, ගුණ නසාගෙන ජීවත් වෙන, දොස් සහිත, නුවණැත්තන් විසින් ගැරහීමට ලක්වෙන, බොහෝ පව්ත් රැස් කරගන්න පුද්ගලයෙක් වෙනවා.**

අ. නි. (2) <u>දුතිය ඛත සූත්‍රයේ,</u> තථාගත ශ්‍රාවකයන් කෙරෙහි මනාව පිළිපදින්නෙ නැති අව්‍යක්ත අසත්පුරිස බාලයා ගුණ නසාගෙන ජීවත් වෙන, දොස් සහිත, නුවණැත්තන්ගේ උපවාදයට ලක්වෙන කෙනෙක් බව සඳහන් වෙනවා. ඔහු නොදැන, පරීක්‍ෂා කරන්නෙ නැතිව, ගුණ කියන්න නුසුදුසු පුද්ගලයගෙ ගුණ කියනවා. නොදැන, හොයල බලන්නෙ නැතිව, ගුණ කියන්න ඕන කෙනාගේ අගුණ කියනවා. ඒ වගේම පහදින්න ඕන නැති තැන පැහැදෙනවා, පැහැදෙන්න ඕන තැන පැහැදෙන්නෙ නෑ.

අ. නි. චතුක්ත නිපාතයේ එන <u>වණ්ණ සූත්‍රයෙත්</u> ඉහත විස්තරයට සමාන විග්‍රහයක් සඳහන් වෙනවා. **නුගුණ කිව යුත්තාගේ ගුණ කියන, ගුණ කිව යුත්තාගේ අගුණ කියන, පැහැදිය යුතු තැන නොපහදින, නොපැහැදිය යුතු තැන පහදින පුද්ගලයා, ගෙනාපු බරක් බිම තියනව වගේ නිරයේ උපදින බවත්, ගුණ කිව යුත්තාගේ ගුණ කියන, අගුණ කිව යුතු කෙනාගේ අගුණ කියන, පැහැදිය යුතු තැන පහදින, නොපැහැදිය යුතු තැන නොපහදින පුද්ගලයා, ගෙනාපු බරක් බිම තියනව වගේ සුගතිගාමී වෙන බවත් සඳහන් වෙනවා.**

සබ්‍රහ්මචාරීන් වහන්සේලාට ආක්‍රෝෂ පරිභව කිරීම බරපතල අකුසලයක්, ආර්ය උපවාදයක්. අං. නි. (3) 407 පිටුවේ එන <u>අක්කෝසක සූත්‍රයේ,</u> තථාගතයන් වහන්සේ භික්‍ෂූන් වහන්සේලාට ආමන්ත්‍රණය කරමින් මේ විදිහට පැහැදිලි කරනවා. මහණෙනි, **යම් භික්‍ෂුවක් සබ්‍රහ්මචාරී උතුමන්ට ආක්‍රෝෂ පරිභව කරනව නම් ආදීනව පහක් ලබන්න හේතු වෙනවා.** ඒ කාරණා පහ මෙන්න මේ විදිහට විස්තර වෙනවා.

1. ලෝකෝත්තර ආර්ය මාර්ගය වැසී පාරාජිකා වැනි ඇවතකට පැමිණීම.
2. එසේත් නැතිනම් කිළිටි ඇවතකට පැමිණීම.
3. දැඩි රෝගාබාධයකට හෝ ලක් වීම.
4. මුළා වූ සිහියෙන් කළුරිය කිරීම.
5. මරණින් පසු අපාගත වීම.

සත්පුරිස උතුමන්ට ආක්‍රෝෂ පරිභව කිරීම කොච්චර බරපතල කාරණයක්ද කියල මේ දේශනාවෙන් අවධාරණය කරල තියෙනවා. ඒ වගේම **ආර්ය උතුමන්ට පරිභව කිරීමෙන්, අනතුරු දහයකට ගොදුරු වෙන්න හේතු වෙන** බවත් සඳහන් වෙනවා. (අ. නි. 6 - අක්කෝසක සූත්‍රය - 303 පිටුව)

1. අවබෝධ නොකළ දහම් අවබෝධ නොවීම. (අනධිගතං නාධිගච්ඡති)
2. ලැබූ දහම් පිරිහීමට පත්වීම (අධිගතා පරිහායන්ති)
3. සද්ධර්මය පිරිසිදු නැතැයි ගැනීම. (සද්ධම්මස්ස න වෝදානයන්ති)
4. සද්ධර්මයෙහි අධිමානය ඇතිවීම. (සද්ධම්මේසු වා අධිමානිකෝ හෝති)
5. අකමැත්තෙන් බඹසර හැසිරීම (අනභිරතෝවා බ්‍රහ්මචරියං චරති)
6. කිළිටි ඇවතකට හෝ පත්වීම (අඤ්ඤතරංවා සංකිලිට්ඨං ආපත්තිං ආපජ්ජති)

7. දැඩි රෝගාබාධයකට හෝ පත් වීම. (ගාළ්හංවා රෝගාතංකං ඵුසති)
8. සිතේ වික්ෂිප්ත බවට හෝ උමතු බවට පත් වීම. (උම්මාදං වා පාපුනාති චිත්තක්ඛේපං)
9. සිහි මුලාවෙන් කළුරිය කිරීම. (සම්මූල්හෝ කාලං කරෝති)
10. මරණින් පසු නිරයගාමී වීම. (කායස්ස භේදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උප්පජ්ජති)

අ. නි. (6) 596 පිටුවේ එන <u>ව්‍යසන සූත්‍රයෙත්</u> මේ කරුණු 10 මේ විදිහටම විස්තර කරල තියෙනවා.

යෝ දණ්ඩේන අදණ්ඩේසු
අප්ප දුට්ඨේසු දුස්සති
දසන්නං මඤ්ඤතරං ඨානං
ඛිප්පමේව නිගච්ඡති

වේදනං පරුසං ජානිං ශරීරස්සච භේදනං
ගරුකංවාපි ආබාධං
චිත්තක්ඛේපංච පාපුණේ

රාජතෝවා උපසග්ගං
අබ්භක්ඛානංච දාරුණං
පරික්ඛයංච ඤාතීනං
භෝගානංච පභංගුරං

අථ වස්ස අගාරානි
අග්ගි ඩහති පාවකෝ
කායස්ස භේදා දුප්පඤ්ඤෝ
නිරයං සෝ උපපජ්ජති

(ඛුද්දක නිකාය - ධම්ම පදය - දණ්ඩ වග්ගය 9, 10, 11, 12 ගාථා)

මේ ගාථාවන් තථාගතයන් වහන්සේ වදාළේ, සැදිමතුන් අතර අග තනතුර ලබාගෙන හිටපු මහ මුගලන් මහ රහතන් වහන්සේගේ පිරිනිවීම මුල් කරගෙන. මුගලන් හාමුදුරුවෝ කාලසිලා (කළුගල්) පර්වතයේ වැඩ හිටපු කාලයේ පල්හොරුන්ගෙන් ගුටි කාල පිරිනිවන් පෑවා. මේ ගැන භික්ෂූන් වහන්සේලා දම් සභා මණ්ඩපයේ රැස්වෙලා සාකච්ඡා කරමින් ඉන්නකොට තථාගතයන් වහන්සේ එතැනට වැඩම කළා.

මුගලන් හාමුදුරුවන්ට පල්හොරුන්ගෙන් ගුටි කාල පිරිනිවන් පාන්න හේතු වෙච්ච, පෙර සසරෙදී දෙමව්පියන් මරණයට පත් කළ පාප කර්මය භික්ෂූන් වහන්සේලාට පැහැදිලි කර දෙමින්, එදා ඒ කර ගත්ත පාප කර්මය හේතුවෙන් අප්‍රමාණ කාලයක් නිරයේ ඉපදිලා දුක් විඳල ඒකෙ ශේෂ



විපාක වශයෙන් අත්බැව් සීයක් මේ ආකාරයටම ශරීරයේ ඇට නහර කුඩු වෙලා මරණයට පත් වුන බව පැහැදිලි කළා. මේ විදිහට මුගලන් මහ රහතන් වහන්සේ, තමන් කළ කර්මයට අනුරූපව ජීවිතය අවසන් වුන බවත්, මේ තීර්ථකයො එකතු වෙලා මුගලන් හාමුදුරුවන්ට අපරාධ කළ බවත් සඳහන් කළා. ඒ අපරාධය කළ අයටත් අජාසත්ත රජතුමා විසින් රාජ දණ්ඩන ලබා දුන්නා. **නිර්දෝෂී උතුමන්ට, සිතින් වේවා, වචනයෙන් වේවා, කයෙන් වේවා යම් අපරාධයක් කළොත් කරුණු දහයකින් විපතට පත් වෙන බව සඳහන් කරමින්** තථාගතයන් වහන්සේ ඉහත ගාථා දේශනා කළා. ඒ කරුණු 10 තමයි මේ.

1. දරුණු වූ වේදනාවකට පත්වීම (වේදනං)
2. ධන හානියකට පත්වීම (ජානිං)
3. සිරුර බිඳීමකට පත්වීම (ශරීරස්සච භේදනං)
4. බලවත් රෝගයකට පත්වීම (ගරුකංවාපි ආබාධං)
5. චිත්ත වික්ෂිප්තයකට පත්වීම (චිත්තක්ඛේපං)
6. රාජ දණ්ඩනයකට පත්වීම (රාජතෝවා උපසග්ගං)
7. දරුණු වූ ගැරහීමකට පත්වීම (අබ්භක්ඛානංච දාරුණං)
8. නෑයන්ගේ විනාසයකට පත්වීම (පරික්ඛයංච ඤාතිණං)
9. භෝගයන්ගේ විනාසයකට පත්වීම (භෝගානංච පභංගුරං)
10. ගෙවල් දොරවල් ගින්නෙන් විනාසයකට පත්වීම (අථවස්ස අගාරානි අග්ගිඩහති පාවකෝ)

"කෝක" කියන සුනඛ වැද්දාගේ කතාවෙනුත්, උතුමන්ට නපුරුකම් කිරීමෙන් ඒ ජීවිතයේදීම විපතට වැටුන හැටි මැනවින් විස්තර වෙනවා. මේ කෝක කියන වැද්දා දවසක් උදෙන්ම දුනු ඊතල අරගෙන තමන්ගෙ සුනඛ රැනත් එක්ක සතුන් දඩයම් කරන්න යන අතරමගදි පොඩි හාමුදුරුවො නමක් මුණගැහුනා. උන්වහන්සේ දැකීමෙන් කෝපයට පත් වුන වැද්දා, අද උදෙන්ම මුඩු මහණෙක් ඉස්සරහට හමු වුනා, අද නම් කිසිම දඩයමක්වත් ලැබෙන එකක් නෑ කියල කැළයට ගියා.

අද වුනත් කෙනෙක් ගමනක් යන්න පිටත් වෙනකොටම භික්ෂූන් වහන්සේ නමක් ඉස්සරහට මුණ ගැහුනොත්, මේ වැද්දා වගේ හිතන, කියන, නොසතුට පළ කරන මෝඩ මිනිස්සු ඉන්නවා. **භික්ෂුව අසුභ දර්ශනයක් විදිහට දකින මිනිස්සු තමන්ගෙ දානෙට, මරණෙට, මගුලට, සියලු සුභ කටයුතුවලදී භික්ෂුවගේ උදව් උපකාර පතනවා.** ආගම ධර්මය ගැන තියෙන අනවබෝධය නිසාම නුවණ මඳකමින් බමුණු මත කරපින්නාගෙන වැරදි නිගමනවල දෘෂ්ටිගත වෙලා ඉන්නවා. **"සුඛා තේ සමණ ජායා" ශ්‍රමණයන් වහන්සේ නමකගෙ ජායාව පවා සැප ගෙන දෙන බවයි ධර්මයේ සඳහන් වෙන්නෙ. "සමණානංච දස්සනං ඒතං මංගල මුත්තමං" මහා මංගල සූත්‍රය අනුව ශ්‍රමණයන් වහන්සේලා දැකීම මංගල කාරණයක්.** නමුත් ඒක අද ඇතැමුන්ට අවමංගල්ලයක් වෙලා. මංගල (මං + ගල) කියන්නෙ පරමාර්ථ අර්ථයෙන් මමත්වය ගලවා දැමීම කියන කාරණය.

කෝක වැද්දා කැලේ ඇවිදල කිසිම දඩයමක් නැතිව ආපසු ගෙදර යනකොට උදේ හමුවුන පොඩි හාමුදුරුවො නැවත මුණ ගැහුණා. එයින් කෝපයට පත් වෙච්ච වැද්දා, මේ ශ්‍රමණයා උදේ දැකල ගිහින් මට කිසිම දඩයමක් හම්බ වුනෙත් නෑ, දැන් නැවතත් මා ඉදිරියට මුණ ගැහුනා, දැන් මූ නිකම්ම යවන්නෙ නෑ කියල ද්වේශයෙන් උන්වහන්සේ වෙතට බල්ලන් උසිගැන්නුවා. උන්වහන්සේ දුවගෙන ගිහින් ගහක් උඩට නැග ගත්තා. බලු රැන ගහ වටකර ගත්තා.

වැද්දා ගහ යටට ඇවිත්, තොට අද යන්න ඉඩ දෙන්නෙ නෑ කියල ඊතලවලින් ගහේ හිටපු භික්ෂුවගේ යටි පතුල්වලට අනින්න පටන් ගත්තා. වේදනාවෙන් ඒ මේ අත දඟලනකොට පොඩි හාමුදුරුවන්ගෙ සිවුර ගැලවිලා වැද්දගෙ සිරුර වහගෙන හිස මතට වැටුනා. ගහ වටේ හිටපු සුනඛ රැන, ගහේ හිටපු භික්ෂුව තමයි බිමට වැටුනෙ කියල හිතාගෙන වැද්දගෙ ඇඟේ මස් කඩාගෙන කෑවා. අවසානයේ වැද්දගෙ ඇටසැකිල්ල විතරයි ඉතිරි වුනේ.

ගහ උඩ හිටපු භික්ෂූන් වහන්සේ වේළිච්ච දණ්ඩක් කඩාගෙන සුනඛයන් හිටපු තැනට දැම්මම භික්ෂුව දැකපු සුනඛයන්, මේ විදිහට කාල දාල තියෙන්නෙ තමන්ගෙ ස්වාමියා කියල දැනගෙන එතැනින් යන්න ගියා. වැද්දගෙ මරණයෙන් කම්පාවට පත් වුන භික්ෂූන් වහන්සේ, මගේ සිවුර වැද්දගෙ ඇඟ මත වැටීම නිසා ඔහු මරණයට පත් වුනා, මටත් මෙයින් වැරැද්දක් සිද්ධ වුනාද කියල තථාගතයන් වහන්සේ මුණ ගැහිල සිද්ධ වෙච්ච සියලු විස්තර දැනුම් දුන්නා. එතකොට තථාගතයන් වහන්සේ, ඔබට මේකෙන් කිසි වැරැද්දක් වුනේ නැති බවත්, වැද්දා විසින් වරදක් දෝසයක් නැති කෙනෙකුට හිංසා කරන්න ගිහින් විපතට පත් වුන බවත් සඳහන් කරල ඒ හා සම්බන්ධ අතීත කතාවත් දේශනා කළා.

ඔය වැද්දා නිර්දෝසී අයට වැරදි කළේ අද විතරක් නෙවෙයි, පෙර සංසාර ගමනෙදිත් ඔය වගේ දේවල් කළා. මහණෙනි, පෙර සංසාර ගමනෙදි මොහු එක්තරා වෙද මහත්තයෙක් විදිහට වෙදකම් කරමින් එක්තරා ගම්මානයක ගමන් කළා. ගමේ කෙළවර සෙල්ලම් කරමින් හිටපු කුඩා දරුවන් පිරිසක් දැකල, මේ කොල්ලන්ව නයෙකු ලවා දෂ්ට කරවල මේ අයට බෙහෙත් ප්‍රතිකාර කරල මුදල් ලබා ගැනීමේ අදහසින් ගස් බෙනයක හිස එළියට දමාගෙන නිදාගෙන හිටපු නයෙක් අර ළමයින්ට පෙන්නුවා.

ළමයිනේ බලන්න මේ කුරුළු පැටව කොච්චර හොඳද, ඌ අල්ල ගන්න කියල ළමයින්ව උනන්දු කළා. එක ළමයෙක් නයා බෙල්ලෙන් තදින් අල්ලගෙන එළියට ගත්තට පස්සෙ ඌ නයෙක් බව දැනගෙන වෙද මහත්තයගෙ ඇඟටම ඇදල දැම්මා. වෙද මහත්තයගෙ ඇඟ වෙලා ගත් නයා ඔහුට දෂ්ට කරල එතැනම මරණයට පත් වුනා.

මේ විදිහට මේ කෝක වැද්දා පෙරත් වරදක් නැති අයට වරද කරන්න ගිහින් තමන් විපතට වැටුන හැටි පැහැදිලි කරමින් මේ ගාථාවත් දේශනා කළා.

යෝ අප්ප දුට්ඨස්ස නරස්ස දුස්සති
සුද්ධස්ස පෝසස්ස අනංගනස්ස
තමේව බාලං පච්චේති පාපං
සුඛුමෝ රජෝ පටිවාතංව
ඛිත්තෝති

(ධම්ම පදය - පාප වර්ගය - 10 ගාථාව)

**යම් කිසි කෙනෙක් දූෂිත නොවූ, පිරිසිදු වූ, කෙළෙස් නැති උතුමෙකුට, දූෂිත සිතින් අවැඩ කරනව නම්, ඒ පාපය උඩු සුළඟට දැමූ දූවිලි තමා කරාම එන්නා සේ ඒ අඥානයා කරාම පැමිණේ.**

වර්තමානයේ සත්පුරිසයා, අසත්පුරිසයා කියල හරිහැටි හඳුනගන්න බැරිව ඇතැම් අය සත්පුරිසයන්ට අසත්පුරිස වාදයෙන් අපවාද කරන ආකාරය අපිට අහන්න දකින්න ලැබෙනවා. **කෙනෙක් සිල්වතෙක්ද, ප්‍රඥාවන්තයෙක්ද, සත්පුරිසයෙක්ද, අසත්පුරිසයෙක්ද කියල හඳුනගන්න නම් දීර්ඝ කාලයක් නුවණින් යුක්තව මනසිකාරයෙන් ඇසුරු කරන්න ඕන. එහෙම නැතිව පුද්ගලයෙක් ගැන හරියට නොදැන විවේචනය කරන්න යාම ඉතා අනතුරුදායකයි.**

තථාගතයන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලයේ මෙන්න මේ විදිහෙ ප්‍රශ්න කිපයක් උන්වහන්සේගෙන් අහල තියෙනවා. භවත් ගෞතමයන් වහන්ස, අසත්පුරිස පුද්ගලයෙක් මොහු අසත්පුරිස තැනැත්තෙක් කියල හඳුනනවද? බමුණ, අසත්පුරිස කෙනෙකුට තවත් එබඳුම අසත්පුරිස කෙනෙක් හඳුනගන්න පුළුවන්කමක් නෑ, එය කිසිදා සිදු නොවෙන දෙයක් බව තථාගතයන් වහන්සේ දේශනා කරනවා.

ස්වාමීනි, අසත්පුරිසයෙක් මොහු සත්පුරිස කෙනෙක් කියල හඳුන ගන්නවද? බමුණ, එයත් සිදු වෙන්න හේතු නැති කරුණක්. ඒ වගේම සත්පුරිසයෙක් මොහු නම් අසත්පුරිස ගති තියෙන කෙනෙක් කියල දැන ගන්නවද? බමුණ, එය සිදු වෙන්න පුළුවන් කාරණයක්.

භවත් ගෞතමයන් වහන්ස, සත්පුරිස පුද්ගලයෙකුට මේ තැනැත්තා සත්පුරිසයෙක් කියල හඳුනගන්න පුළුවන්ද? බමුණ, එයත් සිදුවිය හැකි කාරණයක් කියල තථාගතයන් වහන්සේ දේශනා කළා.

(අ. නි. 2 - 348 පිටුව - ද්විතීය වස්සකාර සූත්‍රය)

අසත්පුරිසයාව හඳුන ගන්න තවත් කාරණා හතරක් තියෙන බව අසත්පුරිස වධුකා සූත්‍රයේ මේ විදිහට විස්තර වෙනවා. මහණෙනි, **අසත්පුරිසයා අනුන්ගේ යම් කිසි අගුණයක් කියනව නම්, ඒක ඇහුවෙ නැතත් ප්‍රකාශ කරනවා. ඒ ගැන කවුරු හරි ඇහුවොත්, කිසිම අඩුවක් නැතිව අගුණ විස්තර කරනවා. තව ඕන නම් නැති අගුණ වුනත් කියන්න පෙළඹෙනවා. මේ විදිහට අනුන්ගෙ නුගුණ කියන අසත්පුරිසයෙක් කියල මේ කාරණයෙන් දැනගන්න පුළුවන්.**

පරවජ්ජානු පස්සිස්ස
නිච්චං උජ්ඣාන සඤ්ඤිනෝ
ආසවා තස්ස වඩ්ඪන්ති
ආරා සෝ ආසවක්ඛයා

(ධම්ම පදය - මල වග්ගය)

අනුන්ගෙ වැරදි දකිමින් නිතර නින්දා කරන පුද්ගලයාට ආශ්‍රව ධර්ම (කාමාශ්‍රව, භවාස්‍රව, දිට්ඨාස්‍රව, අවිජ්ජාස්‍රව) වැඩෙනවා. ඔහුට ආසවක්ඛයා ඥානය (නිවන) ලබන්න බාධා ඇති වෙනවා.

**අසත්පුරිසයාගේ දෙවෙනි ලක්ෂණය තමයි, අනුන්ගෙ යම් ගුණයක් තියෙනවද, ඒ ගැන ඇහුවත් ප්‍රකාශ කරන්නෙ නෑ. ඇහුවෙ නැත්නම් ඒක කොහෙත්ම කියන්නෙ නෑ. අසත්පුරිසයා තමන්ගෙ යම් අගුණයක් තියෙනවද, ඒක ඇහුවත් වරද වහන්න තමයි උත්සාහ කරන්නෙ. ඇහුවෙ නැති තැන ඒ ගැන කොහෙත්ම කියන්නෙ නෑ.**

**අසත්පුරිසයාගෙ තවත් ලක්ෂණයක් තමයි, තමන්ගෙ යම් කිසි ගුණයක් තියෙනව නම් ඒක ප්‍රකාශ කරනවා. කවුරුහරි ඒ ගැන ඇහුවොත් එහෙම කිසි අඩුවක් නැතිව සම්පූර්ණ වශයෙන් තමන්ගෙ ගුණ ප්‍රකාශ කරනවා. මේ කාරණා හතරෙන් අසත්පුරිසයා කියන්නෙ කවුද කියල හඳුනගන්න පුළුවන්.**

ඒ වගේම සත්පුරිසයා කියන්නෙ මොන විදිහෙ ගුණ තියෙන කෙනෙක්ද කියල හඳුනගන්න ලක්ෂණ 4 ක් තියෙනවා. ඒ හතර මෙන්න මේ විදිහට විස්තර වෙනවා.

**සත්පුරිසයා, අනුන්ගෙ යම් අගුණයක් තියෙනවද, ඒක ඇහුවත් කියන්න යන්නෙ නෑ. ඇහුවෙ නැත්නම් ඒ ගැන කවර කතාද?**



# ලෝක පරිණාම පොත් ගුලෙන් බිඳක්...

වහරකඅභයරතනාලංකාරමහතෙරුන් වහන්සේට විවෘත වූ පොත්ගුල් හතර සම්බන්ධයෙන් විස්තරයක් හෙළ බොදු පියුම 7 වන කලාපයෙන් ඉදිරිපත් කළා. ලෝකයේ බොහොම කලාතුරකින් කෙනෙකුට විවෘත වන ඒ පොත් ගුල් හතරෙන් උන්වහන්සේට ඇදී ආ ලෝක පරිණාමය පිළිබඳ තවත් කෙටි විස්තරයක් කොළ කැබැල්ලක සටහන් කරල තිබුනා. දැනටමත් කඩතොලු වෙලා දිරාපත් වෙමින් පවතින ඒ කොළ කැබැල්ලේ සටහන් වෙලා තිබුන කරුණු ලෝකයාට වැදගත් වෙයි කියල හැඟුන නිසා හැකි පමණින් මේ විදිහට ගලපල සටහන් කරනවා.

ස්ව කියන්නෙ තමන්. රණ කියන්නෙ යුධකාමී බව, කෙළෙස්වලින් බරිත හිතේ තියෙන සටන්කාමීත්වය. අරණ කියන්නෙ එසේ නොමැති බව. ස්ව + අරණ හෙවත් ස්වර්ණ කියන්නෙ හිතේ සටනක් නැති බව. මුලින් තිබුන මෙන්න මේ කියන ස්වර්ණමය ගති (රත්තරන් ගති) මිනිස්සුන්ගෙන් ගිලිහුනාම ඒ භව ශක්තියෙන් විශ්වයේ සුදුසු තැන රන් (ස්වර්ණ) පහල වෙනවා. ස්වර්ණමය ගති ගිලිහුනත් ඒ මිනිස්සුන්ගෙ හිත්වල මහා සෘද්ධි (ඉර්ධි) බලයක් තියෙනවා. සිත සෘද්ධිමත් බවින් යුක්තයි. ඒ ගුණය ගිලිහිලා නෑ. ක්‍රමයෙන් අපවිත්‍ර මාත්‍රයක් ඇති වෙලා ලාභ, කීර්ති, ප්‍රසංසා තකා කටයුතු කරනකොට ඒ සෘද්ධිමත් භාවයත් ගිලිහෙනවා. එතකොට ඒ අයගේ ගිලිහුනු භව ශක්තියට අනුව විශ්වයේ සුදුසු තැන සෘද්ධි හෙවත් රිදී පහල වෙනවා.

ඊළඟට හිතවත් ඒකීය භව පහල වෙමින් සාමූහික මුදු මොළොක් සිතිවිලි, ක්‍රියා, වදන් විද්‍යමාන වෙනවා. හැබැයි ඒ සිත පෙරට වඩා කිළිටියි. කාම රාග වැළඳ ගන්නවා. මුදු බවේ ඇසුර වෙනවා. කාලයක් යද්දි ඒ ගතියත් ගිලිහිලා ගියාම ඒ භව ශක්තියෙන් මෘදු හෙවත් මුර්තු - මුතු පහල වෙනවා.

කාමයෝ දියර ආශ්‍රිතයි. මොළොක් ගති, සෙවෙල ගති ආශ්‍රිතයි. ගති අනුරූපව දියරයේ වසන බෙල්ලෙකුගේ මොළොක් මස තුල සෙවෙල බැඳීමකින් මුතු නිර්මාණය වීම ධර්මතාවයක්. ඊළඟට හිත තවදුරටත් කිළිටි වීමෙන් මොළොක් සිතිවිලි ක්‍රමයෙන් අත්හැරෙමින් තද හිත් නැගෙන්න ගන්නවා. ගල් හිත් නැගෙන්න ගන්නවා. හැබැයි ඒකත් සාපේක්ෂයි. පසු කාලයත් එක්ක බලනකොට ඒකත් එක්තරා ගුණයක්. අයුක්තියට අසාධාරණයට එරෙහිව හිතේ නැගෙන එක්තරා ආකාරයක තද බවක්. කාලයක් යනකොට ඒ තිබුන වාසනා ශක්තියත් මනසින් ක්ෂය වෙලා ගිහින් පොළවේ ගල් ලෙසින්, මාණික්‍ය (මැණික්) ලෙසින් පිහිටනවා. මනසේ ක්ෂය වූ අර්ථයෙන් මාණික්‍ය ලෙසටත්, ගල් වූ ස්වභාවයෙන් තද හෙවත් ගල් ලෙසටත් මැණික් ගල් පිහිටීම ස්වභාවය වෙනවා. ගල් හිත්වල ස්වභාවයත් විවිධ නිසා ඒ මැණික් ගල් පවා

---

සත්පුරිසයා හඳුනගන්න තියෙන ඊළඟ ලක්ෂණය තමයි, **අනුන්ගෙ යම් කිසි ගුණයක් තියෙනව නම් ඒක තව කෙනෙක් ඇහුවෙ නැතත් ප්‍රකාශ කරනවා. කවුරුහරි ඇහුවොත්, අහවලා තුල මේ ගුණ තියෙනව කියල ඒක අඩුවක් නැතිව සම්පූර්ණයෙන්ම විස්තර වශයෙන් ප්‍රකාශ කරනවා.**

සත්පුරිසයාගේ තුන්වෙනි ලක්ෂණය තමයි, **තමන්ගෙ යම් අඩුපාඩුවක් වරදක් තියෙනව නම්, ඒක තව කෙනෙක් ඇහුවත් නැතත් ප්‍රකාශ කරනවා. කවුරුහරි ඒ ගැන ඇහුවොත් කිසිම සැඟවීමක් නැතිව විස්තර වශයෙන් ප්‍රකාශ කරනවා.**

සත්පුරිසයා හඳුනගන්න තියෙන අවසාන ලක්ෂණය තමයි, **තමන්ගෙ යම් ගුණයක් තියෙනව නම් ඒක ඇහුවත් කියන්න කැමැත්තක් දක්වන්නෙ නෑ. ඇහුවෙ නැත්නම් අත්තුක්කංසනයෙන් (තමා උසස් කරමින්) තමන්ගෙ ගුණ කොහොමටවත් කියන්න යන්නෙ නෑ.**

(අ. නි. 2 - 144 පිටුව - <u>අසප්පුරිස වධුකා සූත්‍රය</u>)

මහණෙනි, අසත්පුරිස වූ බාලයා නසාගත්, විනාස කර ගත් අත්බැවක් පරිහරණය කරනවා. නුවණැත්තන් විසින් කරුණු පෙන්වා දිය යුත්තෙක්, චෝදනා ලැබිය යුත්තෙක් වෙනවා. ඔහු බොහෝ අකුසල්ද රැස් කර ගන්නවා. කාය දුශ්චරිත, වාග් දුශ්චරිත, මනෝ දුශ්චරිත කියන තුනෙන් යුක්තව විනාස කර ගත් ජීවිත පරිහරණයක් ඇති කෙනෙක් වෙනවා.

(අ. නි. 1 - 202 - තික නිපාතය - බාල වග්ගය)

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**

**නිග්‍රෝධාරාම සේනාසනය,**

**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**

**0716839346**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



22 වන කොටස

**මජ්ජිම නිකාය - 3**

චූල සුඤ්ඤත සූත්‍රය - 264 පිටුව

යම් තැනක යමක් නැත්ද එයින් එය ශූන්‍ය වේ. අනුපූර්ව ශූන්‍යතාවය තුලින් අරිහත් ඵලයටද පරමානුත්තර ශූන්‍යතාවයටද පත්විය හැකි ක්‍රමය මෙහි ඇත.

මහා සුඤ්ඤත සූත්‍රය - 272 පිටුව

භික්ෂූන් වහන්සේලා සමූහ වශයෙන් නිතර ගැවසෙන තැනක් ගැන ආනන්ද හිමියන්ගෙන් කරුණු විචාරා, එහි හට ගන්නා ජන සංගනිකා දෝසයද පෙන්වමින් කරන ලද ශූන්‍යතා විහරණ විස්තර මෙහි අඩංගුය.

විවිධ ස්වභාවයෙන් යුක්තයි. ප්‍රභාස්වර සිත් විසිරිලා යන මුල් අවස්ථාවේ වටිනා කොටස් විදිහට පිටවෙච්ච නිසා මේවාට ලෝකයේ වටිනාකමක් හිමි වෙලා තියෙනවා.

ඉන්පසු ක්‍රමයෙන් ගල් හිත්වල තිබිච්ච සුදු හෙවත් සුද්ධ ගතියත් පිටවෙන්න වුනා. ඒ නිසා තවදුරටත් කිළිටි වුනා. වටිනාකම අඩු නිසා ඒ සුදු ශක්තියත් සුදු ගල් විදිහට (කිරිවානා විදිහට) දිස් වුනා. ඒ ගතිය තමයි ස්වභාවයේ විසිරුණු ශක්ති බලය. ඒ ගති ස්වභාවයෙන් තවදුරටත් කිළිටි වීමෙන් කළු වර්ණ සහිත තද ගති ඇති වුනා. ක්‍රමයෙන් ප්‍රලාළයෝ නැගෙන්න පටන් අරගෙන පරුස ගති, කේලාම්, මුසා බස්... ආදී දුසිරිත් ඇති වුනා. තද ගතියෙන් නවතින්නෙ නැතිව පව් ගති විද්‍යමාන වුනා. කළු වන් ගල් හිත්වල ශක්තියත් විසිරිලා සුදුසු තැන කළු ගල් නිර්මාණය වුනා.

ක්‍රමයෙන් පස්කම් සැපයේ ලොල් බවට පත් වුනා. ඒකත් දූෂ්‍ය වෙලා කාම මිත්‍යාචාර නැගී සිටියා. එතකොට දූෂ්‍ය නොවී විඳපු පස්කම් සැපට හිමි වුන ශක්තියත් චිත්ත සන්තාන ඇසුරින් විසිරිලා ගිහින් සුදුසු තැන්වල පස් විදිහට නිර්මාණය වුනා. පාපයෙන් දූෂිත වෙනකොට සිත, කය දෙකේ හරවත් ශක්තියත් ඉවත දැම්මා. ඒක රෝගාබාධයන්ට මූලාරම්භය වුනා.

**මුලින් හරවත් බව නැගී සිටියේ ගසක් වගේ. හර ලූ හෙවත් හරය ඉවත දැමූ ශක්තියෙන් හැඳුන ගස හරලූ ගස හෙවත් අරළු ගස වුනා. දූෂ්‍ය බව නිසාම මෙතෙක් කිව් සත් බසත් ඉවතලමින් වහසි බස් දොඩන්න පටන් ගත්තා. බහ ඉවත ලූ විට රෝගාබාධත් වැඩි වුනා. බහ ලූ ශක්තිය ගසක් මෙන් බුලු යන නමින් ලෝකයේ පහළ වුනා.**

ලෝකයේ නොඇලී සිටි හොඳ ගතිත් පහ කෙරෙමින් කාමච්ඡන්දයෙන් අල්ලා ගන්න වුනා. හිත තවත් දූෂ්‍ය වුනා. රෝගාබාධ තවත් වැඩි වුනා. **නොඇලීමේ ශක්තිය ගසක් වශයෙන් නොඇල්ලී ගස හෙවත් නෙල්ලි ගස වශයෙන් විද්‍යමාන වුනා.** තවත් කල් යනකොට හිත තවත් දූෂ්‍ය වෙලා දැන හැඳුනුම්කමුත් අමතක කරන්න වුනා. සුහද හැඳුනුම් නැති වෙමින් සටන්කාමීව එක්වීම් වැඩි වුනා. එතකොට **සුදු හඳුනන ගසක් වන් ගතිය ශක්තියක් වශයෙන් විසිරිලා ගිහින් සුදු හඳුන් ගස විදිහට නිර්මාණය වුනා.**

දාහය නැගෙන කොට, දාහයෙන් රත් වෙනකොට, පෙර මනුස්සයාගේ සුදු වර්ණව තිබුන රුධිරය රතු වෙන්න පටන් ගත්තා. ඊළඟට දාහයෙන් නවතින්නෙ නැතිව එකිනෙකා කුලල් කාගන්න පටන් ගත්තා. කණ්ඩායම් අතර බේද වීමෙන් ආත්මාර්ථකාමීව පුද්ගලික ජය පතා සටන් වදින ගතියට හිත දූෂ්‍ය වුනා. **සාමූහික සුහදතාවයත් ඉක්මෙච්චම පොදුවේ කෙනෙක්ගෙ කරදරයකදි රත්වෙන ගතිය හෙවත් රත හඳුනන ශක්තියත් සිත ඇසුරෙන් විසිරිලා ගිහින් ගසක් වශයෙන් රත් හඳුන් නමින් නිර්මාණය වුනා.**

මේ සඳහන් කළේ රන්, රිදී, මුතු, මැණික්, ගල් වර්ග සහ ඖෂධ ගස් වර්ග කිහිපයක් හට ගත්ත ක්‍රම රටාවක්. ඒ සියල්ලම සාපේක්ෂව හොඳ ගුණවල පටන් අඩු ගුණ දක්වා ගිලිහී යාමෙන් ඊට අදාළ ශක්තීන්ගෙන් හට ගත්ත දේවල්. හිත් තුල තිබිච්ච යහපත් ශක්තීන් විසිරිලා ගිය නිසා මේ විදිහට අසමගියට, රෝගාබාධවලට මුල පිරුනා. සම්‍යක් ප්‍රයෝග දැන ගත්තු නුවණැත්තෝ මේ රටාව ද්‍රව්‍ය පදාර්ථ නුවණින් දැනගෙන, ඒවායේ තියෙන ශක්තිය සුදුසු පරිදි ළං කරල දීමෙන් ලෝක සත්ත්වයාට එක්තරා මට්ටමක නිරෝගී බවක්, අභිවෘද්ධියක් ලබා දෙනවා. **හිත පවිත්‍ර නම්, ස්වර්ණමය නම්, මහා කර්ම ශක්තියකින් එන විපාක හැර අනික් සියලු යහපත නැවත තම තමන් කරා විශ්වයෙන් ස්වභාවයෙන්ම ඇදී ඒම ධර්මතාවය වෙනවා.**

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

අච්ඡරියබ්භූත සූත්‍රය - 286 පිටුව

තථාගතයන් වහන්සේලාගේ ආශ්චර්ය අද්භූත කරුණු පිළිබඳ බුදු රජුන්ගේ නියමය පරිදි අනඳ හිමියන් කළ විස්තරයක් මෙහි අඩංගුය. ඒවා බුදු පියාණන් වහන්සේගෙන් පෙර අසා දැනගත් කරුණුය. **බෝසතාණන් වහන්සේ තුසිත දෙව් ලොව (බුදු වන අත්බැවට පෙර) ඉපදුන තැන් පටන් බුදු වන අත්බැවින් මව් කුසේ ඉපදීම දක්වා විග්‍රහ කෙරේ. තවද බුදුන් වහන්සේට දැනුවත්වම වේදනා උපදී, දැනුවත්වම ගෙවේ. මෙයද ආශ්චර්ය අද්භූත සිද්ධියකි.**

බක්කුල සූත්‍රය - 296 පිටුව

බක්කුල හිමියන්ගේ ගිහි කල යහළුවෙක් වූ අචේලකස්සප නුවටුන් ඇසූ ප්‍රශ්නයකට පිළිතුරු ලෙස උන්වහන්සේගේ ආශ්චර්ය අද්භූත කරුණු විග්‍රහ කර ඇත. පැවිදි වූ තැන් පටන් කාම, ව්‍යාපාද, විහිංසා සංඥාවක් නූපදීම, එබඳු විතර්කය කුඩු නූපදීම, සිවුරු පිළිබඳ වෙහෙසීමක් සිදු නොවීම, තමා හුවා දැක්වීමක් නොවීම, පූර්ණ ඉන්ද්‍රිය සංවරය, ස්ත්‍රීන්ට පුද්ගලිකව දහම් නොදෙසීම, කිසිවෙක් පැවිදි නොකිරීම, පැවිදි වී දින හතකින් අරිහත්වය ලැබීම... ආදී කරුණු පිළිබඳ විස්තර ඇත.

දන්තභූමි සූත්‍රය - 304 පිටුව

අචිරවත තෙරණුවන් සහ ජයසේන රාජ කුමරු අතර මේ සාසනයේ දාන්ත භාවයට පැමිණීම (හික්මවීම) පිළිබඳව ඇති වූ කතාවක් මුල් කරගෙන, ජයසේන රාජ කුමරු එබන්දක් විය නොහැකි යැයි පවසා නික්ම ගිය වෙලාවේ අචිරවත තෙරණුවන්ට දාන්ත වීම ගැන කළ දේශනාවක් මෙහි ඇත. **රාජ හස්තියා මගින් කැලෑ හස්තියෙක් අල්වා ක්‍රමයෙන් මෙල්ල කර රාජ හස්තියෙක් ලෙස හික්මවන අයුරු උපමා කර, සැදැහැවත් කුල පුත්‍රයෙක් මහණව අරිහත්වයට පත්වන තුරු දාන්ත කරන අයුරු මෙහි දැක්වේ.**

භූමිජ සූත්‍රය - 320 පිටුව

භූමිජ තෙරුන් ජයසේන කුමරු හමුවූ අවස්ථාවක ඔහු විසින් ඇසූ ප්‍රශ්නයකට පිළිතුරු දීම කර ඇත. ආශා කොට, අනාශා කොට, නැත්නම් ආශා අනාශා කොටත්, එසේත් නැත්නම් ආශා නොකොටත් අනාශා නොකොටත් බඹසර සැරූ නමුත් ඵල ලැබීම අභව්‍යයි යන දෘෂ්ටියක් ගැන ජයසේන කුමරු ඇසීය. (බ්‍රහ්ම චරියාවේ කැමැත්තෙන් හැසිරීම, අකමැත්තෙන් හැසිරීම, කැමැත්තෙන්ද අකමැත්තෙන්ද හැසිරීම සහ අකමැත්තෙන්ද අකමැති නොවීමෙන්ද හැසිරීම.)

භූමිජ තෙර බුද්ධ දේශනාව ලෙස මේ හතර අයුරින්ම නුනුවණින් (නුවණින් තොරව) කළොත් බැරි බවත්, නුවණින් කළොත් හැකි බවත් කී විට, භවත් ගෞතමයන් වහන්සේ හැම මහණ බමුණන්ගේ මුදුන් පැහැරගෙන සිටියේ වැන්නයි ජයසේන කුමරු පැවසීය (අනික් හැම මහණ බමුණන්ටම වඩා බුදුන් වහන්සේ උසස් බව). පසුව භූමිජ තෙරුන් බුදු රජුන් හමුවෙහි මෙය පැවසූ විට උපමා කිහිපයකින්ම ඒ කාරණය සනාථ කර, ජයසේන කුමරුට එසේ කීවේ නම් ඔහු පහදින බවද පෙන්වා ඇත.

අනුරුද්ධ සූත්‍රය - 332 පිටුව

පංචකංග ථපති, අනුරුද්ධ හිමියන්ගෙන් ඇසූ පැනයකට පිළිතුරු මෙහි ඇත. එනම් අප්‍රමාණ චේතෝ විමුක්තිය සහ මහද්ගත චේතෝ විමුක්තිය පිළිබඳවය. අප්‍රමාණ සත්ත්වයින්ට වඩන මෛත්‍රිය අප්‍රමාණ චේතෝ විමුක්තිය ලෙසද, තමන් සිටින තැන, අරම, ගම, රට... ආදී ලෙස සීමා තබා වඩන විට මහද්ගත චේතෝ විමුක්තිය ලෙසද විස්තර කර, ඒ ප්‍රත්‍ය විපාකයෙන් පහල වන දේව අත්බැව්වල ස්වභාවයද විස්තර කර ඇත. **(දෙවියන් සමග කතා කිරීම ගැන මෙකල සමහරු සාසන විරෝධී ලෙස සිතා ඇත. අනුරුද්ධ හිමියන් දීර්ඝ රාත්‍රියෙහි ඒ දෙවියන් හා විසූ විරූ සල්ලාප කළ විරූ සාකච්ඡා කළ විරූ බව මේ සූත්‍රයේ සඳහන් වේ. එනම්, දෙවියන් සමග වාසය කර දහම් සාකච්ඡා කළ බව)**

උපක්කිලේස සූත්‍රය - 344 පිටුව

බුදුන් වහන්සේ කොසඹෑ නුවර ඝෝසිතාරාමයෙහි වැඩ වසන සමයෙහි භික්ෂූන්ගේ කලහයක් නොසන්සිඳීම නිසා ඉන් පිටව වැඩීමත්, බාලක ලෝනකාර නම් ගමේ භගු තෙරුන්ද හමු වී දැහැමි කතාවෙන් සංග්‍රහ කර පාචීන වංශයට වැඩ අනුරුද්ධ, නන්දිය, කිම්බිල යන තෙරවරුන් හමු වී සමගි කතා සහිත කටයුතු ඇති උන්වහන්සේලාට ප්‍රසංසා කොට අනුරුද්ධ හිමියන්ගේ ප්‍රශ්නයකට පිළිතුරු ලෙස අවභාශය (මනසේ නැගෙන ආලෝකය) රූප දර්ශනය හඳුනන බවත්, යළි අතුරුදන් වන බවත් කී විට, බුදු පියාණන් වහන්සේද බුදු වන්න පෙර එසේම වූ බවත් ඒවා මැඩ පවත්වා ජය ගත් අයුරුත් විග්‍රහ කර ඇත.

බාල පණ්ඩිත සූත්‍රය - 360 පිටුව

දස අකුසල් කරන හෙයින් බාලයා හඳුනා ගත යුතු බවත්, මෙලොව සහ පරලොව ඒ අයට විඳින්න සිදුවන අප්‍රමාණ දුක් පිළිබඳවත් විස්තර ඇත. එසේම ත්‍රිවිධ සුචරිතයෙන් හෙවත් දස කුසලයෙන් පණ්ඩිතයා දැනගත යුතුය. ඒ පණ්ඩිතයා මෙලොව ලබන ආනිසංසද පරලොව (ස්වර්ගයේ) අප්‍රමාණ සුද්ධ විපාකද ලබන අයුරුත් පෙන්වා ඇත.

දේවදූත සූත්‍රය - 384 පිටුව

**බුදු රජුන් මිනිස් ඇස ඉක්ම වූ දිවැසින්, චුත වන, උපදින, අතර සැරිසරන සත්වයන් දුටු / දකින අයුරුත්, දස අකුසල් කළ සත්වයින් නිරයට වදින අයුරුත්, යම රජු ළඟ දේව දූතයන් විමසීම සහ අප්‍රමාණ නිරා දුකට දමන අයුරුත් විස්තර වේ.**

භද්දේකරත්ත සූත්‍රය - 398 පිටුව

පංචස්කන්ධය අනිච්ච, දුක්ඛ, අනත්ත ලෙස දැන අසාරත්වය වටහාගෙන, **අතීත පංචස්කන්ධයෙහි නොබැඳීම, අනාගත පංචස්කන්ධයක් බලාපොරොත්තු නොවීම, වර්තමානයයි සම්මත පංචස්කන්ධය පිළිබඳ ඡන්ද රාගය දුරු කිරීම විග්‍රහ කර ඇත.**

ආනන්ද භද්දේකරත්ත සූත්‍රය - 404 පිටුව

පංචස්කන්ධය පිළිබඳව අනිච්ච, දුක්ඛ, අනත්ත බව සිහි කරවන නන්දිරාගයෙන් වෙන්වන අයුරුත්, මුලාව නිසා නන්දිරාගයෙන් බැඳෙන අයුරුත් විග්‍රහ කර, අතීත, අනාගත ඡන්ද රාගයෙන් මිදී වර්තමානය අනිච්චාදී ලෙස බලා, බැඳීම අත්හරින ආකාරය අනඳ හිමියන් භික්ෂූන්ට පෙන්වා වදාළ අයුරුත් විස්තර කර ඇත.

මහා කච්චායන භද්දේකරත්ත සූත්‍රය - 410 පිටුව

සමිද්ධි තෙරුන් අළුයම නැගිට ගාත්‍රා දොවා තනි සිවුරකින් සිටි විට එක්තරා දෙව් දුවක් භද්දේකරත්තයන්ගේ උද්දේශය (මාතෘකාව) විභාගය (බෙදා බලා විස්තර කිරීම) දරව් දැයි කළ සාකච්ඡාවක් මුල් කර බුදුන් වහන්සේගෙන් ඒ පිළිබඳව ඇසූ මොහොතක් මෙහි සඳහන් වේ. **(දෙවඟනක් භික්ෂූන් වහන්සේ නමක් සමග කතා කළ තැනකට සාක්ෂියකි)** බුදු රජුන් සමිද්ධි තෙරුන්ට එම සූතුර දෙසීය. ස්කන්ධ යන වචන වෙනුවට ද්වාදස ආයතන ධර්ම

යොදා දේශනා කර ඇත. උද්දේශය බුදු රජුන් දෙසා ඇත. මහා කච්චායන හිමි විස්තර (විභාගය) කර ඇත.

ලෝමසකංගිය භද්දේකරත්ත සූත්‍රය - 424 පිටුව

නිග්‍රෝධාරාමයෙහි වැඩ සිටි ලෝමසකංගිය භික්ෂූන් වෙත චන්දන දෙව් පුත් පැමිණ භද්දේකරත්තයාගේ උද්දේශය හා විභාගය දන්නේ දැයි ඇසූ ප්‍රශ්න සහ දේවතාවා සමග කළ සාකච්ඡාවක් මුල් කරගෙන බුදු රජුන් කළ දෙසුමකි. බුදු රජුන් තව්තිසා දෙව් ලොව පඬු ඇඹුල් අසුනෙහි (පඬුපුල් ආසනයේ) වැඩ හිඳ දෙවියන්ට කළ දෙසුමක් තුලින් මේ ගාථා චන්දන දෙව් පුත් දැන සිටි බව පැවසේ. බුදු රජුන් ඒ දේවතාවා ගැන ප්‍රසංසාවක්ද කර ඇත. බුදු පියාණන් වහන්සේ පංචස්කන්ධය මුල් කර දේශනා කර ඇත. **(දෙවියන් භික්ෂූන් සමග කතා කර ඇති බවට සාක්ෂියකි)**

චූලකම්ම විභංග සූත්‍රය - 432 පිටුව

**තෝදෙයිය බමුණු පුත් සුභ මානවක, මිනිසුන් අතර පවතින හීන - ප්‍රණීත, දිගු - කෙටි ආයුස, අල්පාබාධ - මහාබාධ, සුවර්ණ - දුර්වර්ණ, නීච - කුලීන... ආදී වෙනස්කම්වලට හේතුව බුදු රජුන්ගෙන් ඇසූ විට "කම්මස්ස කෝම්හි කම්ම දායාදෝ...(කර්මය මුල් කර, කර්මය දායාද කර...)" ආදී දේශනාව උද්දේස ලෙස වදාරා විස්තර කළ දේශනාව ඇත.**

මහා කම්ම විභංග සූත්‍රය - 444 පිටුව

සමිද්ධි තෙරුන් කරා එළඹි පෝතලී පුත්‍ර පරිබ්‍රාජක, බුදු පියාණන් හමුවේ අසා පිළිගත් ලෙස බොරුවක් කියා ඇති කොටසකි. "කාය කර්ම, වාග් කර්ම හිස්ය. මනෝ කර්ම තථ්‍ය (ස්ථිරය). තවද සමවතකට සමවන්නේ කිසි වේදනාවක් නොවිඳීද එබඳු සමවතක් ඇත." මීට නිගරු කර, බුදුන් වහන්සේට නිගරු නොකරන ලෙස සමිද්ධි තෙරුන් පෝතලීට කළ අවවාදයද නොරිස්සූ ඔහු තවත් ප්‍රශ්නයක් සමිද්ධි තෙරුන්ගෙන් ඇසීය.

ඇවැත්නි, කයින් වචනයෙන් සිතින් දැන දැන කර්ම කොට හේ කවර වේදනාවක් විඳීද? දුක් වේදනා යැයි සමිද්ධි තෙරුන් පිළිතුරක් දී ඇත. පෝතලී පරිබ්‍රාජක එය පිළිනොගෙන බැහැරද නොකොට හුනස්නෙන් නැගී ගියේය. මෙය මුල් කරගෙන ආනන්ද හිමියන්ට සමිද්ධි හිමි කී විට, බුදු රජුන්ගෙන් ඇසූ විස්තරය මෙහි සඳහන් වේ. මේ පැන විසඳීම මුල් කරගෙන බුදුන් වහන්සේ ආනන්ද හිමියන්ට මෙසේ දේශනා කර ඇත.

ආනන්දය, සමිද්ධි මෝඝ පුරුෂයා විසින් පෝතලී පුත්‍ර පරිබ්‍රාජිකට බෙදා ප්‍රකාශ කළ යුතු ප්‍රශ්නය ඒකාන්ත කොට විසඳන ලදී. මෙසේ කී විට එහි සිටි උදායී හිමි බුදු රජුන්ට මෙසේ පැවසීය. ස්වාමීනි, සමිද්ධි තෙරුන් විසින් යම් කිසි වේදනාවක් ඇත්ද එය දුකයි යන්න මේ සඳහා කියන ලදද? මෙසේ ඇසූ විට බුදු රජුන්, ආනන්දය තෙපි මේ උදායී මෝඝ පුරුෂයාගේ ප්‍රඥා - උන්මාර්ගය බලව (ප්‍රඥාව නැති නොමග) (උම්මග්ගං), ආනන්දය, මම මේ උදායී මෝඝ පුරිස මෙවිටම හිස නගනුයේ නුනුවණින් හිස නගා යැයි දකිමි. ආනන්දය පෝතලී පුත්‍ර පරිබ්‍රාජිකයා විසින් මුලදිම ත්‍රිවිධ වේදනාව පුළුවස්නා (ප්‍රශ්න කරන) ලදී.

මේ විස්තරය බුදු පියාණන් වහන්සේ විසින් මෙහි විසඳා ඇත. **කයින්, වචනයෙන්, මනසින් දැන දැන සුඛ වේදනාවට හේතු වන කර්ම කොට හේ සුඛ වේදනා විඳී, දුකට හේතු වන කර්ම කොට දුක් වේදනා විඳී, උපේක්ෂාවට හේතු වන කර්ම කොට උපේක්ෂා වේදනා විඳී.** ආනන්දය, මෙසේ විසඳන සමිද්ධි මෝඝ පුරුෂ, පෝතලී පුත්‍ර පරිබ්‍රාජිකයාට මොනවට ප්‍රකාශ කරන්නේය.

පූර්ණ විස්තරය මේ සූත්‍රයේ ඇත. මේ අවස්ථාවේ මහා කම්ම විභංගය දේශනා කර ඇත.

සළායතන විභංග සූත්‍රය - 458 පිටුව

මෙහි සවැදෑරුම් අධ්‍යාත්මික ආයතන, බාහිර ආයතන, සවැදෑරුම් විඤ්ඤාණය, සවැදෑරුම් ස්පර්ශයෝ, අටලොස් මනෝ පවිචාර, සතිස් (36) සත්ව පද මුල් කර, මෙය නිසා මෙය දුරු කරවයි කළ විස්තරය ඇත. පංච කාමය ඇසුරු කරන සෝමනස්ස 6 යි, නෙක්ඛම්මය ඇසුරු කරන සෝමනස්ස 6 යි, පංච කාමය අසුරු කරන දෝමනස්ස 6 යි, නෙක්ඛම්මය ඇසුරු කරන දෝමනස්ස 6 යි, පංච කාමය ඇසුරු කරන උපේක්ෂා 6 යි, නෙක්ඛම්මය ඇසුරු කරන උපේක්ෂා 6 යි,

උද්දේස විභංග සූත්‍රය - 470 පිටුව

යම් පරිදි තුලනා කරන ලද මහණ හට බැහැර අරමුණෙහි විඤ්ඤාණය අවික්ෂිප්ත වූයේ (වික්ෂිප්ත නොවූයේ) නොවිසිරුනේ, අධ්‍යාත්මයෙහි ගෝචරව නොපිහිටියේ උපාදාන වශයෙන් නොගෙන තෘෂ්ණා වශයෙන් පරිතස්සනා නොකරන්නේද (තෘෂ්ණාවෙන් පීඩිතව, තැතිගෙන නොගන්නේද), එබඳු මහණ හට මත්තෙහි ජාති ජරා මරණ ආදී දුක් කඳ නොවන්නේය. විග්‍රහය මේ සූත්‍රයේ ඇත.

අරණ විභංග සූත්‍රය - 484 පිටුව

**සත්‍යාවබෝධය ලත් භික්ෂුව තමා හුවා නොදක්වයි. අනුන් හෙළා නොදක්වයි. ධර්මය ධර්මය සේ යථා ස්වභාවය පමණක් ප්‍රකාශ කරයි. භේද ඇති කර නොගෙන සාමයෙන් කටයුතු කරයි. භාෂාවන්ගේ වචනවල බැඳී නොසිට අදහසම ගෙන ජනපද නිරුක්ති නොබිඳ දම් දෙසයි. විස්තර ඇත.**

ධාතු විභංග සූත්‍රය - 496 පිටුව

බුදු රජුන් උදෙසා සැදැහැයෙන් පැවිදි වූ පුක්කුසාති කුල පුත්‍ර බුදු රජුන් දකින්න එන අතරමග රාත්‍රී නවාතැනකදී උන්වහන්සේ බව නොදැන නමුත්, ඒ භග්ගවකුම්භකාරගේ කුඹල් හලෙහිදී මේ ධාතු විභංග සූතුර දෙසන ලදී. පුරුෂ තෙමේ සැවැදෑරුම් ධාතු මාත්‍රයකි. සැවැදෑරුම් ස්පර්ශායතන මාත්‍රයකි. අටලොස් මනෝ පවිචාර මාත්‍රයකි (18 ආකාර වූ මනෝ විතක්ක විචාර). සතර ප්‍රතිෂ්ඨා ඇත්තේය. එනම් පිහිටිය යුතු කාරණා 4 ක්. ප්‍රඥාව, සත්‍යය, ත්‍යාගය, සංසිඳීම ඒ හතරයි. මෙසේ උද්දේශය ආරම්භ වී විස්තර කර ඇත.

(පසුගිය කලාපයේ මජ්ජිම නිකාය 2 යටතේ පළ වූ සූත්‍ර, මජ්ජිම නිකාය 3 යනුවෙන් නිවැරදි විය යුතු බව කරුණාවෙන් සළකන්න.)

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

**මෙලොව, පරලොව, නිවන යන තුන් අභිවෘද්ධියම සැලසෙන සේ, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ගිහි වතක සිටියදී සිදු කළ දුර්ලභ වූ පටිභාන කාව්‍යමය දේශනා ඇසුරින් සකස් කළ "අධ්‍යාත්මයේ විද්‍යාව පිළිබිඹු කෙරෙන බුද්ධ වන්දනාව හා බෝධි වන්දනා" සහ "පෙරදා දෙසූ දම්" යන දහම් පුස්තක බොහෝ පින්වතුන්ගේ ඉල්ලීම මත නැවත මුද්‍රණය කර ඉදිරියේදී ප්‍රකාශයට පත් කෙරෙනු ඇත.**

# නොපළ වූ ගුණ කඳ XIX



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

## අභයරතනාලංකාරය - 90

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ අබේරත්න උපාසක මහත්තය විදිහට ගිහි වතක සිටියදී මෙහෙය වනු ලැබූ සාසනික කටයුතුවලට එදා පටන් සහසම්බන්ධ වූ උපාසක අම්මා කෙනෙකුගේ අත්දැකීම් කිහිපයක්පසුගියකලාපතුනෙන්ඉදිරිපත් කළා. අවසාන වශයෙන් ඇය තවත් අත්දැකීම් බිඳක් මේ විදිහට හෙළිදරව් කළා. මේ අත්දැකීම්වල එන සමහර කරුණු කාරණා තම තමන්ගේ දහම් අවබෝධය අනුව එදිනෙදා ජීවිතයටත්, නිවන් මග වඩාගන්නත් ප්‍රයෝජනවත් වෙයි කියන බලාපොරොත්තුවෙන් මේ විදිහට සටහන් කරනවා.

එක පසළොස්වක පොහොය දවසක අබේරත්න අනුසාසකතුමා සීල සමාදානය පවත්වනකොට ආරණ්‍ය සේනාසනවල සීල භාවනා වැඩසටහන්වලට යන උපාසක අම්ම කෙනෙක් ඇවිත් දහම් සාකච්ඡාවලට සම්බන්ධ වුනා. ඇය එදා කියපු වදනක් පස්සෙ දවසක කැසට් පටියක සටහන් වෙලා තිබිල අපිට අහන්න ලැබුනා. “මම අද තමයි අනිච්ච, දුක්ඛ, අනත්ත දේශනාව හරියට අහල අවබෝධ කර ගත්තෙ” කියල ඇය කියල තිබුනා. ඊට පස්සෙ පසළොස්වක පොහොය දවසක ගමේ පන්සලේ සිල් සමාදන් වෙන්න ගිය මේ උපාසක අම්මා පන්සලේදිම මරණයට පත් වෙලා තිබුනා. මරණ අවස්ථාවෙදිම ඇය ඉතිරි මග ඵලත් සම්පූර්ණ කරගෙන නිවනින්ම සුවපත් බව ලැබුව කියල ඒ මරණ ගෙදර ගියපු වෙලාවෙ අබේරත්න අනුසාසකතුමා කියල තිබුනා. (මීට පෙර අවස්ථාවලත් සඳහන් කරල තියෙන ආකාරයට, ඒ අවස්ථාවේ මනෝමය කයේ පරිවර්තන සහ වෙනත් කිසි තැනක උප්පත්තියක් නැති බව සමාධි ඥානයෙන් යොමු කරල බලල)

ඒ විස්තර ඒ ගෙදර උදවියට කිව්වත් සමහර ඥාතීන් ඒ වචන පිළිගන්න අකමැති වීම නිසා, දේහය මිහිදන් කළත් ඒ ස්ථානයට සීමා තබන්න කියල එතුමා කියල තිබුනා. අවසන් කටයුතුවලින් පස්සෙ දවසක ඇගේ දුවක් අපිත් එක්ක කිව්වෙ, වෙනත් අවශ්‍යතාවයකට ඒ ගෙදර හිතවත් කෙනෙක් ඒ දේහය මිහිදන් කරපු තැනින් යනකොට ඒ ස්ථානය දහස්පෙතියා මල්වලින් වැහිල තියෙනව ඒ අය දැක්ක කියල. (මේ පිළිබඳව වෙනම විස්තරයක් ඉදිරි කලාපයකින් බලාපොරොත්තු වන්න.)

තව දවසක් දුර පළාතක හිටපු අම්ම කෙනෙක් අබේරත්න අනුසාසකතුමා මුණගැහෙන්න ආවෙ ආරක්ෂක අංශයේ සේවයට බැඳිල හිටපු තමන්ගෙ පුතා අතුරුදන් වෙලා තිබුන නිසා ඒ ගැන දැනගන්න. එතුමා සමාධි ඥානයෙන් යොමු කරල බලල කිව්වෙ, කොටි ත්‍රස්තවාදීන් පුතාව පැහැරගෙන ගිහින් මුහුද මැද ඔවුන්ගෙ බල කොටුවක අතපය යකඩ දම්වැල්වලින් බැඳල රඳවගෙන ඉන්නව කියල. **නොකඩවා සතියක්ම කිරිපැණි සමග බුද්ධ පූජාව පවත්වල සුදු කොඩි පූජා කරල බුද්ධ ආශිර්වාද බලයෙන් සෙත් පතන්න කියල** එතුමා උපදෙස් දුන්නම, ඇය ළඟපාත හිතවත් ගෙදරක නතර වෙලා ඒ කියපු විදිහටම ඒ පූජාවන් සිද්ධ කළා. දවස් 7 කට පස්සෙ එතුමා කිව්වා, දැන් කොටි ත්‍රස්තවාදීන් පුතාගෙ අතපය මුදා හැරල තියෙනව කියල. ඒ වගේම දින 21 කින් පුතාව මුදා හරින බවත් කිව්වා. එතුමා කිව්වෙ දින 21 කින් පුතාව මුදා හරින බව මිසක් ගෙදර එන බවක් නෙවෙයි. නමුත් ඒ අවස්ථාවෙ බොහොම දුකින් හිටපු ඒ මව තේරුම් ගත්තෙ පුතා ගෙදර එයි කියල. මේ මව ඇවිත් තමන්ගෙ හිතවත් කෙනෙකුට ඒ බව කිව්වම, ඒ අය කියල තිබුනා, ඔහොම කියන කෙනෙක් නම් ඉන්නවලු, අපි නම් ගිහින් නෑ, බලමුකො දවස් 21 න් පුතා එයිද කියල, ආවොත් නම් අපිත් යනව කියල. මේ කියමන නිසා අධෛර්යට පත් වෙච්ච මව ගෙදර ගිහින් නැවත මේ ස්ථානයට ආවෙ නෑ. පස්සෙ ඒ විස්තරය හරියාකාරව ඇය අවබෝධ කර ගත්තත් අබේරත්න අනුසාසකතුමා ඒ වෙනකොට ඒ ස්ථානයේ හිටියෙ නැති නිසා ඇය බොහෝ දුකට පත් වෙලා, එතුමා ඉන්න තැනට හොයාගෙන ගිහින්, ඒ ස්ථානය දියුණුවට බොහොම ඇප කැප වෙලා කටයුතු කළා. පුතා වෙනුවෙන් ලැබෙන දීමනාවෙන් ඇය සාසන මෙහෙවරට ආධාර උපකාර කළා.

ඒ කාලෙ එතුමාගෙන් ආශිර්වාද, උපදෙස් ගන්න යන බොහෝ අයට මේ වගේ කතා කියල ඒ යන පිරිස් නවත්වන්න තවත් පිරිසක් උත්සාහ කළා. ඒ යන පිරිස්වලට බොහෝ නින්දා අපහාස කළා. එතුමා කියන කරන දේවල් දැක බලාගන්න විතරක් එන අයත් හිටියා. ඒ අය ගිහින් එතුමා ගැන විපරමින් ඉන්න අයට විවිධ බොරු ප්‍රකාශ කළා. ඒවා අහල උගත් කියල සම්මත වෙලා හිටපු සමහර පිරිස් තව තවත් දේවල් කියල හිනා වුනා. විහිළු කළා. අධ්‍යාපනය ලබා ගන්න ඒ උගත් අය ළඟට ගියපු සමහර තරුණ ළමයි එතුමාට කරන නින්දා අපහාස අහල කලකිරිල ඒ අය ළඟට යන එකත් නැවැත්තුවා. ඒ මොන දේ කිව්වත් ඒ අවවාද අනුසාසනා දරාගෙනම එතුමා ළඟට එදා පටන්ම ගිය පිරිස තමන්ගෙ ඥාති හිත මිත්‍රාදීන්ගෙ බසට පවා අවනත නොවී දිගටම ඒ වැඩසටහන්වලට සම්බන්ධ වුනා.

එතුමා මේ හැම දෙයක් ගැනම දැනගෙන හිටියත් නිහඬවම ගත්ත පියවර ඉදිරියටම තිව්වා. එතුමාගේ සමාධි දේශනාවලටත් වරින් වර යම් යම් අයගෙන් බාධා ආවා. ඒ අතරෙ සමහර දවස්වල එතුමාට ආහාර ප්‍රශ්නත් මතු වුනා. උපකාර කරන්න අය

හිටපු නිසා ඒ ගෙදරම ආහාර සකස් කරගන්න පුළුවන් වුනත් වරින්වර ඒ සඳහාත් බාධා ආවා. එතුමා මේ සත් දහම ලෝකයට දෙන්න කරන වීර්යට ඇයි මෙහෙම බාධා කරන්නෙ කියලත් දහම් අවබෝධය ලබා ගන්න ආපු පිරිස් කතා වුනා.

පෙර බුදු පියාණන් වහන්සේලාගෙන් විවරණ ලබල සිවුපිළිසිඹියාපත් ඥාන ලබාගෙන මහ රහත් බව ලබන උතුමන්ට, අතින් සෙත් කරල රෝගීන් සුවපත් කරන්න පුළුවන් බලයක් තියෙන බවත් දවසක් එතුමා කිව්වා. එතුමා පෙර බුදු පියාණන් වහන්සේ නමකගෙන් ශ්‍රාවක විවරණ ලබන අවස්ථාවෙ ඒ වගේ උතුමෙක් එතුමා ළඟින්ම හිටපු බවත් කිව්වා.

එතුමා සාසනික කටයුතු කරන පූජා භූමියේ හිටපු දවසක රෑ 7.00 ට විතර පිරිත් දේශනයක් පවත්වත්දි, පොල් ගහක් විතර උස, පොල් ගහක් විතර මහත කකුල් තියෙන යක්ෂ අමනුස්ස බලවේගයක් එතුමා ඉදිරියට ඇවිත් බලාගෙන ඉඳල තියෙනවා. එතුමා ශාන්තවම ඒ පිරිත් දේශනාව පවත්වපු බවත්, ඉන්පසු ඒ යක්ෂයා ඒ ස්ථානයෙන් ඉවත් වෙලා ගිහින් කලින් දවසක එතුමා එක්ක අමනාපයෙන් හිටපු කෙනෙක්ගෙ බෙල්ල මිරිකගෙන ඉන්නව සමාධියෙන් දැකපු බවත් කිව්වා. ඒ පුද්ගලයා මේ යක්ෂ බලවේගය එවල තියෙන්නෙ එතුමාව මරා දමන්න කියල ඒ බලවේගයට අණ කරල. උඹ මට නැති කරන්න කිව්වෙ, මරා දමන්න කියල මාව යැව්වෙ ඒ උත්තමයවද කියල ඒ යක්ෂයා කෝපයෙන් ඒ පුද්ගලයගෙම බෙල්ල මිරික ගත් බවත් එතුමා කිව්වා. ඒ පුද්ගලයා එහෙම කරල තිබුනෙ, එතුමා මේ සත් කටයුතු කිරීම ගැන අමනාපයෙන්. අබේරත්න අනුසාසකතුමා මේ වගේ සෙත් ශාන්ති කටයුතු කිරීම ගැනත්, බොහෝ පිරිස් ඒ කටයුතු වර්ණනා කිරීම ගැනත් එතැනට එන පිරිස නොයෙක් තැන්වල කතා කිරීම ගැන සමහරු හිටියෙ නොසතුටින්. මොකද එතුමා මේ ප්‍රදේශයට එන්න පෙර ඒ වගේ කටයුතු කරල ලාභ ප්‍රයෝජන මුදල් ලබා ගත්ත පිරිස්, එතුමාගේ පැමිණීම නිසා ඒ අය ළඟට එන ජනතාවගේ පැමිණීම අඩු වෙලා එතුමා කෙරෙහි වෛර හිතක් ඇති කරගෙන තිබුනා.

අර කියපු පුද්ගලයා පස්සෙ දවසක මරණයට පත් වෙලා, යමපල්ලන් ඒ පුද්ගලයගෙ සූක්ෂමකය අපායට ඇදගෙන යත්දි මෙතුමා ළඟට එක්කරගෙන ඇවිත්, උඹ මේ උතුමාගෙන් සමාව ගන්නවද කියල අහල තිබුනා. ඒත් මේ නපුරු මනුස්සයගෙ වෛරය කොච්චරද කියනව නම්, දත්මිටි කාගෙන අහක බලාගෙන සමාව ගැනීම ප්‍රතික්ෂේප කරල තියෙනවා. ඒ ක්ෂණයෙන්ම අපායේ ඔහුට හිමි දුක් විඳින ස්ථානයට ඇදගෙන ගිහින් අත්හැරල තියෙනවා. එදා සමාව ගත්ත නම් ඔහුට හිමි වන අපා දුක බොහෝ දුරට අඩු වන බවත් එතුමා දවසක් කිව්වා.

අබේරත්න අනුසාසකතුමාගෙ සමාධි දේශනාවලට එන කරදර බාධක අවබෝධ කර ගත්ත එක්තරා මහත්මියක්, එතුමාට තමන්ගෙ වෙනත් ඉඩමක් පූජා කරන බව කියපු නිසා කුපිත වෙච්ච කෙනෙක්, එහෙම කිව්වෙ කවුද කියල හරියට දන්නෙ නැතිව පාරෙ යමින් හිටපු වෙනත් මහත්මියකට මරණ තර්ජනය කරල තිබුනෙ ඇයත් මේ වැඩසටහන්වලට නිතර සහභාගි වෙන නිසා. ඒ ගැන ආරංචි වෙච්ච අබේරත්න අනුසාසකතුමා ඒ මහත්මියගෙ ගෙදරට ගිහින් ඒ අයගෙ හිත් සන්සුන් කරල ආශිර්වාද කරල තිබුනා. එතුමාගෙ ජීවිතය විනාස කරන්න යම් යම් පිරිස් විසින් එතුමාට ලැබුන ආහාර පතටත් නොයෙක් විස වර්ග යොදල තිබුනා.

ගිජිදාගමට එන්න පෙර එතුමාගෙන් උදව් උපකාර ලබා ගත්ත පුද්ගලයෙක් එතුමා හොයාගෙන ආවෙ වෛර හිතක් එක්ක ආයුධයකුත් හංගගෙන. එතුමා ඒ පුද්ගලයට ආහාරපානවලින් සංග්‍රහ කරල අවවාද අනුසාසනා කළාට පස්සෙ වැඳල නමස්කාර කරල ගිහින් තිබුනා.

සමහරු හිතාගෙන හිටියෙ එතුමා යහපත් දෙයක් පෙන්වා දුන්නට පස්සෙ ඒ අනුව හිතල මතල කටයුතු කරන්න නෙවෙයි, ඒ ක්‍රියාවෙන් නැගෙන කරදර ප්‍රශ්න අවහිර තියේ නම් ඒවත් එතුමා විසින්ම විසඳල දෙන්න ඕන කියල. මේ වගේ මානසික මට්ටමක් තියෙන, මෙලොව ගැන විතරක් හිතන අවස්ථාවාදී මිනිස්සු අතර එතුමා ගෙන ගිය මේ සද් කාර්ය කරන්න පුළුවන් වෙන්නෙ, බෝසත් ගුණ තියෙන පාරමී දම් පුරන උතුමන්ට විතරයි කියල අපිට හැඟුන වාර අනන්තයි.

මේ වගේ අර්බුද ඇතිවෙච්ච කාලයක පොල්ගහවෙල ගිජිදාගම ඉඳන් ආපු පින්වත් පිරිසක් ඒ ගමේ දායක පිරිසේ අවධානය යොමු කරල ඒ ප්‍රදේශයේ ඉදි කරල තිබුන පුණ්‍ය භූමියක් එතුමාගේ සාසන කටයුතු කරගෙන යන්න ලබා දෙන්න කැමැත්ත පළ කළා. ඒ පිරිස් බුලත් හුරුළු පිළිගන්වල ඒ ගමට ඇවිත් මේ උතුම් දහම ලෝක සත්වයාට දේශනා කරන්න කියල ආරාධනා කළා.

1994.11.04 පොල්ගහවෙල උඩපනලිය ගෝඨාභය රජමහා විහාරාධිපති ස්වාමීන් වහන්සේගේ ආරාධනාව අනුව අබේරත්න අනුසාසකතුමා විසින් ඒ විහාරස්ථානයෙන් පටන් ගත්ත මංගල බෝධි පූජාව එතුමා පැවිදි වෙනකල්ම රටේ විවිධ ස්ථානවල කරගෙන ගියා. පැමිණෙන දායක පිරිස් තම තමන්ගෙ විහාරස්ථානවල වැඩ ඉන්න ස්වාමීන් වහන්සේලාගෙන් අවසරය අරගෙන එතුමාට ආරාධනා කරල ඒ බෝධි පූජාව පවත්වන ආකාරය දැනගෙන අවබෝධය ලබාගෙන සංවිධානය කළා. මීට කලින් පවත්වපු නැති ආකාරයෙන් පැවැත්වෙන මේ විශේෂ බෝධි පූජාවෙන් ලැබෙන සෙත් ආශිර්වාදය නම් අප්‍රමාණයි. ආශිර්වාද ලබා ගන්න ඒ බෝධි පූජා පැවැත්වෙන පුණ්‍ය භූමිවලට සෙනග ඇදිල ආවෙ දැන්වීම් පත්‍රිකා මගින් කලින් දැනුම් දීම හරහා. ලංකාව පුරා තිබුන සිද්ධස්ථානවලින් ආරාධනා ලැබෙන විදිහට එතුමා ඒ ආශිර්වාද බෝධි පූජා පැවැත්වුවා. නන් දෙසින් එන පිරිස් තමන්ගෙ දූ දරුවන් එක්ක මේ නොදන්නා ඈත එපිට දුෂ්කර පළාත්වලට යන්න නම් කිසිම බයක් චකිතයක් තිබුනෙ නෑ. ඒ සඳහා අබේරත්න අනුසාසකතුමාගේ අධිෂ්ඨාන ශක්තියත්, ආශිර්වාදයත් නොඅඩුවම පිරිසට ලැබුනා. ඒ පූජා සඳහා සහභාගි වන හැම දෙනාටම රාත්‍රී තේ පැන්, ආහාරපාන ලැබෙන ආකාරයත්, රාත්‍රී නිවෙස්වලට යන ආකාරය ගැනත් හොයල බලල කටයුතු කරන්න ඒ සංවිධායක මණ්ඩලය ඉතා වෙහෙස මහන්සියෙන් කටයුතු කළා. රාත්‍රී නිවෙස්වලට යන්න බැරි පිරිස්වලට නවාතැන් පහසුකම් පවා සැලසුවා.

ගෞතම බුදු පියාණන් වහන්සේට පෙර වැඩ හිටපු කාශ්‍යප බුදු පියාණන් වහන්සේගෙන් ලබා ගත්ත ශ්‍රාවක විවරණ බලයෙන් එතුමා මේ ප්‍රාතිහාර්යාත්මක සෙත් ආශිර්වාද පූජාව පවත්වන බව කවියෙන්ම ප්‍රකාශ වුනා. (මේ පිළිබඳ වැඩි විස්තර 49, 50 සඟරා කලාපවල අභයරතනාලංකාරය යටතේ පළ කරල තියෙනවා.)

භාජනයකට හත් වතාවක් පෙරා ගත්ත පිරිසිදු ජලය සුදු රෙදි කඩකින් වහල බෝධීන් වහන්සේ අභියස තැන්පත් කරල, බෝධීන් වහන්සේට සම්බන්ධ කරල ගැට

ගහන සුදු නූල් පොටවල් එකට තියල එතුමාගේ අතේ තියෙන පුවක් මල් කිනිත්තට සම්බන්ධ කරගෙන තමයි මේ උතුම් බෝධි පූජාව පවත්වන්නෙ. මල්, පහන්, සුවඳ දුම්, දැහැත්, බෙහෙත්, ගිලන්පස, සිවුරු පිරිකර, චතු මධුර ප්‍රණීත පානයන්... ආදිය සකස් කරල පූජා කරල ඒ පුණ්‍ය ස්ථාන භාර ස්වාමීන් වහන්සේලාත් ඒ ස්ථානයට වැඩම කරවල උන්වහන්සේලා අතින්ම පහන් දැල්වීමක් කරල තමයි බෝධි පූජාව පටන් ගන්න මුල පුරන්නෙ.

**මුල්ම දවස්වල පවත්වපු බෝධි පූජාවලදි මහ බෝසතාණන් වහන්සේ තමන්ගෙ මව් කරපිට තියාගෙන මහ සයුර පිහිනපු ආකාරයත්, බෝසතාණන් වහන්සේගේ කුඩා කාලයත්, මවට ඉතාමත්ම කීකරුව නිරෝගීව ප්‍රිය මනාප පෙනුම ඇති දරුවෙක් විදිහට මව් ළඟ හිටපු ආකාරයත් එතුමා කවියෙන් දේශනා කළා. මව් කරපිට තියාගෙන මහ සයුර පිහිනද්දි නැගෙන රළ පහරින් අහස උසට විසිවෙන ආකාරයත්, නැවත මහ සයුරේ ගැඹුරට යන ආකාරයත්, මහා වීර්යකින් මතු වෙලා ඇවිත් මුහුද මැද පිහිනන ආකාරයත් දේශනා කරද්දි, ඒ අවස්ථා අපි ඉදිරියේම සිද්ධ වෙන දෙයක් විදිහට දැනිල ඇස්වලට කඳුළු ආවා. ඒ තරම් ගරු ගාම්භීරව බොහොම සංවේදීව තමයි එතුමා ඒ දේශනා පැවැත්වුවෙ. වෙරළට එන බෝසත් පුතා මව්ගෙන් විවරණ ලබා ගත් තැන් පටන් ඒ බෝසත් ගුණ කඳේ ආශිර්වාදයෙන් එතුමා හැමෝටම සෙත් කරනවා. ඊට පස්සෙ බුද්ධත්වයට පත් වෙලා දෙසුව දහම් කඳේ ආශිර්වාදයෙන් හැමදෙනාටම සෙත් සුව පතනවා. ජය සිරි මහා බෝ රජිඳුන්ගෙ ආශිර්වාද බලයෙන් පෙර නොඇසූ ආකාරයට සෙත් පතන්නෙ, බුදුන් වහන්සේගේ දෙතිස් මහා පුරිස ලක්ෂණ පටිභාන කවිත්වයෙන් මතු කරමින්.**

උඩපනලිය ගෝඨාභය රජ මහා විහාරයේ මංගල බෝධි පූජාව පවත්වපු දවසෙදි එතුමාගේ මුවින් නැගුන කවියෙන් කවියට පින්වත් පිරිස සාධුකාර පවත්වද්දි, එතුමා එක පාරටම පිරිසට නැගිටල සාධුකාර දෙන්න කියල කවියෙන්ම කිව්වා. එහෙම කියල තියෙන්නෙ හත් වරක් පෙරපු, සුදු රෙද්දෙන් වහල තිබුන පිරිසිදු පැන් බඳුනට බුදු පියාණන් වහන්සේගේ ශ්‍රී හස්තයෙන් සෙත් ආශිර්වාද ලබා දුන්න නිසා කියල දැනගත්තා. ඒ බෝධීන් වහන්සේ පිහිටල තිබුනෙ ගල් කුලක්



උඩපනලිය ගෝඨාභය රජමහා විහාරයේ බෝ සමිඳුන්

මුදුනක. ඉතා සුළු ඉඩ ප්‍රමාණයක වුනත් බොහෝ පිරිසක් රැස් වෙලා හිටියා.

ඒ ගල් තලාව මත වතුර හිඳෙන්නෙ නැති විදිහට කුඩාවට සකස් වෙච්ච තවත් කුඩා වළකුත් තිබුනා. ඒක පෙර වළගම්බා රජු දවස සකස් කෙරුන පුණ්‍ය භූමියක් බවත් දැන ගත්තා. ඒ ගල් තලාව මතින් බෝධීන් වහන්සේ ළඟට යන්නත් අමාරුයි. ඒ ස්ථානයට නගින්න ඉණිමං බැඳල තිබුනා. ඒ ස්ථානයේ නිතරම හමන මඳ පවනින් පිරිසගේ විඩාබර බවත් සංසිඳුනා. ඒ උස් භූමියේ ඉඳන් අබේරත්න අනුසාසකතුමාගෙ හඬින් තෙරුවන් ගුණ ආශිර්වාද සෙත් බලය දස දිසාවටම පැතිරුනා.

එතුමා ගැන අවබෝධයක් ලබල හිටපු ස්වාමීන් වහන්සේලා වැඩම කරල බෝධි පූජා පවත්වන්න ආරාධනා කරන අවස්ථාත් තිබුනා. ආරණ්‍ය සේනාසනයක වැඩ හිටපු එක්තරා ස්වාමීන් වහන්සේ නමකගේ ආරාධනාව අනුව ඒ පුණ්‍ය භූමියට එතුමා ආපු දවසෙ මාධ්‍ය මගිනුත් ඒ පූජාව වීඩියෝගත කළා. පූජාව අවසානයේ රාත්‍රියේ දහම් සාකච්ඡාවකුත් තිබුනා. කොහොමහරි පූජාව අවසන් වෙලා අපි ගෙදර එනකොට ඒ මාර්ගය දර කොට, පොල්පිති... ආදිය දාල අවහිර කරල තිබුනා. පිරිසට ඒවත් ඉවත් කරගෙන මාර්ගය සකස් කරගෙනම යන්න සිද්ධ වුනා.

තවත් ස්වාමීන් වහන්සේ නමකගේ ආරාධනාවකට අනුව ඒ විහාරස්ථානයේ එතුමා පවත්වපු බෝධි පූජාව අහගෙන හිටපු අවට නිවෙස්වල පිරිස් අතිශයින්ම පැහැදිලා උන්වහන්සේගෙන් ඒ ගැන විස්තරත් අහල තිබුනා. අනාගාමී ඵලයට පත් වෙච්ච උතුමෙකුට හැර මේ වගේ දේශනා සාමාන්‍ය උතුමන්ට නම් කරන්න බැරි බව තමයි ඒ ස්වාමීන් වහන්සේ කියල තිබුනෙ. පූජා පවත්වන විහාරස්ථානවල ස්වාමීන් වහන්සේලාත් ගම්වාසී දායක පිරිසත්, සංවිධායක පිරිසත් එක් සිත්ව ගරු බැති සිතින් ඒ කටයුතු කරනකොට ඒ ස්ථානවල විවිධාකාරයෙන් පෙනෙන ගුප්ත දර්ශන දැකගත්ත උදවියත් හිටියා.

එක්තරා විහාරස්ථානයක එතුමා බෝධි පූජාව පටන් ගන්නකොටම අහසේ බෞද්ධ කොඩිය ළෙල දෙන්න පටන් ගත්ත ආකාරය දැකපු අයත් හිටියා. එදා ඒ විහාරස්ථාන භූමියත් අවටත් කහ පාට වර්ණයකින් බැබළුන බව අපිත් දැක්කා. ඒ වගේම සමහර ස්ථානවල පූජා දේශනා පවත්වන කොට පුදුම විදිහට හිත සමාධිගත වෙලා සංවර වෙනවා. සමහර ස්ථානවල හිත එකඟ කරගන්න අපහසු අවස්ථාත් තියෙනවා. සමහර විහාරස්ථානවල ස්වාමීන් වහන්සේලා, ගිහි මහත්තයෙක් ඒ දේශනා පැවැත්වීම ගැන ඒ තරම් සතුටක් තිබුනෙ නැතත්, පන්සලේ දායක පිරිසගේ ඉල්ලීම නිසා ඒ අයගෙ හිත් රිදවන්න බැරි නිසා අවසර දීපු අවස්ථාත් තිබුනා. ඒ වුනත් ඒ ස්වාමීන් වහන්සේලා පසුව ප්‍රකාශ කරල තිබුනා, අපි ඒ මහත්තය කියන දේශනා අහගෙන තමයි හිටියෙ, ත්‍රිපිටක ධර්මයනෙ දේශනා කළේ කියල.

මලියදේව මහ රහතන් වහන්සේ වැඩ හිටපු දෙනගමුව පන්සලේ පවත්වපු බෝධි පූජා පිංකමට 5000 කට අධික පින්වත් පිරිසක් සහභාගි වුන බවත් ඒ ස්ථානය භාරව හිටපු මහත්තයෙක් කිව්වා.

එතුමා විහාරස්ථාන ළඟට එනකොට ඒ ස්ථානවල ඉන්න අමනුස්ස පිරිස් පලා යන බවත් කියල තියෙනවා. බොහෝ විහාරස්ථාන අඩපණ වෙලා ගරා වැටිල දියුණුවක් නැතිව තියෙනකොට, එතුමා බෝධි පූජා පැවැත් වුවාට පසු අපිට දැනගන්න ලැබිච්ච ආකාරයට කාගෙ හරි උපකාරයකින් ඒ විහාරස්ථාන වැඩි දියුණු වෙලා, චෛත්‍ය තිබුනෙ

නැත්නම් ඒවත් සකස් වෙලා බැබලෙන ආකාරය අපි දැකල තියෙනවා. සමහර විහාරස්ථානවල බෝ සමිඳුන් ළඟ පැන් පුරවපු භාජනය තියල සෙත් ආශිර්වාද පවත්වනකොට ඒ සුදු රෙදි තෙමාගෙන පැන් උතුරල යන ආකාරයත් අපි දැකල තියෙනවා. පෙර සසර මහ වෙදැදුරෙක් වෙලා ලෝ සතුන්ට ඖෂධ දෙන කාලයේ පහල වෙලා හිටපු මහා කාශ්‍යප බුදු පියාණන් වහන්සේගෙන් ලබා ගත්ත සෙත් ආසිරි විවරණ ගුණ බලයෙන් මේ වගේ ජලය සෙත් කරල ලෝක සත්වයාට ලබා දීල මෙලොව කායික සුවපත් බවත්, පරලොව භව රෝගය නසන්න දහම් ඖෂධත් ලබා දෙන බව එතුමා කියල තියෙනවා.

තෙරුවන් ගුණ ආසිරි බලයෙන් සෙත් කරගන්නා පැන් හැමෝටම බෙදල දෙන්න පෙර ඒ පැන් පානය කරන ආකාරයත්, පානය කිරීමෙන් ලැබෙන සහනයත් හැමෝටම සමාධි දේශනා තුලින්ම අවබෝධ කරල දෙනවා. ඒ එන පිරිස් මහා බලාපොරොත්තු සහගතව උනන්දුවෙන් ඒ සෙත් පැන් ලබා ගන්න භාජනත් අරගෙන තමන්ගෙ වාරය එනකල් බලාගෙන ඉන්නවා. සෙත් කරගන්න තියපු බෙහෙත් වර්ගත්, සුවඳ දුම්, පහන් දල්වන තෙලුත් ආසන මත තියපු පිරිස් ඒවා නැවත ලබා ගන්නෙ අප්‍රමාණ ගරු බැති සිතින්මයි.

මේ වගේ බෝධි පූජා 65 කට විතර සහභාගි වෙන්න අපිටත් අවස්ථාව ලැබුනා. එතුමා ඒ පූජා පවත්වන දවස්වල හඳ තියෙන කාලයක් නම් හඳ වටේ රැස් වළලු වැටිල තියෙන ආකාරය පිරිස්වලට දැක ගන්න පුළුවන්. ඒ පූජාවලට සම්බන්ධ වෙන්න එන දිව්‍ය බ්‍රහ්ම ආදී පිරිස් අහසේ විමන් මවාගෙන ඉන්න ආකාරය එතුමා දිවැසින්ම දැකල තියෙනවා. පූජාවෙන් පස්සෙ ඒ විස්තර කැපකරු දායක මහත්තයට කිව්වම ඒ මාර්ගයෙන් අපිත් ඒ විස්තර දැනගන්නවා.

පූජාවලට සෙනග සිය දහස් ගණින් හිටියත්, 50 - 60 ක් හිටියත් එතුමා කිසිම දවසක සෙනග අඩුවක් නිසා, පවත්වන පූජාවෙ නම් කිසිම අඩුවක් කළේ නෑ. ඒ උතුම් බෝධි පූජා එතුමා පවත්වන්නෙත් හත්සිය අවුරුද්දකට අධිෂ්ඨාන බල පිහිටවල. **ඒ අප්‍රමාණ තෙරුවන් ගුණ බෝධි ගුණ බල පිහිටවල තියෙන සෙත් පැන් බිඳුවක් පානය කරපු කෙනෙකුට නිවනට තියෙන බාධා පවා අවම වෙනව කියල එතුමා කියල තියෙනවා.**

**පූජා දවස්වලත්, අනික් දවස්වලත් අපි එතුමාට වැඳල නමස්කාර කරනකොට, මේ කුණු කයට මොන වැඳුම්ද, මම මේ වැඳුම තුනුරුවන් ගුණයට පූජා කරනවා කියල එතුමා කියන්නෙ, කෙනෙක් තව කෙනෙකුට වැඳුම් කරනව නම් ඒ උතුමන්ගේ ගුණය ගැන සිහි කරගෙන ඒ ගුණයට වන්දනා කළ යුතු බව ලෝක සත්වයාට අවබෝධ කරල දෙන්න. එහෙම නැත්නම් වඳින කෙනා හීන මානයටත්, වැඳුම් ලබන කෙනා උච්ච මානයටත් ලක් වෙලා අකුසලයක් සිද්ධ කර ගන්න පුළුවන් කියල එතුමා දවසක් කිව්වා.**

එතුමා දේශනා කරන හැම දහමක්ම, භාවනාවක්ම අවසන් වෙන්නෙ මාර්ග ඵල ලබල රහත් භාවය ලබල නිවනින්ම කෙළවර වෙන ආකාරයට. කලින් දවස්වල ආපු පුරුදු පිරිසත් එක්ක මේ ස්ථානවල සිද්ධ කෙරෙන මේ සත් කටයුතු ගැන ප්‍රචාරය වීම නිසා බොහෝ දුර ඈතින් පිරිස් එන්න පටන් ගත්තා. ඒ දේශනා පටිගත කිරීමෙන් ඒවා අහපු පිරිස් අනික් අයටත් ඒවා අහන්න ලබා දීම නිසා, දැන උගත්කම් තියෙන, දහම් හොයමින් හිටපු පිරිස්වල පැමිණීමත් අවධානය යොමු වීමත් නිසා ඒ ස්ථාන සෙනගින් පිරිල යන්න පටන් ගත්තා. බොහෝ උගත් භික්ෂූන් වහන්සේලාත්, දස සිල් මෑණිවරුත්, උපාසක උපාසිකා පිරිසත්, ගිහි තරුණ පිරිසත් ඇවිත් තම තමන්ගෙ ප්‍රශ්න විසඳ ගත්තා. උපාසක මට්ටමේ හිටපු සමහර මහත්වරු පැවිදි දිවියටත් පත් වුනා.

පොහොය දවස්වලට සිල් සමාදන් වෙච්ච පිරිසට ධ්‍යාන මග ඵල ලබන ආකාරයටම අත්වැල් භාවනා පුරුදු කළා. බොහෝ කොටම උදේ සිල් සමාදන් වෙන පිරිස් ගෙවල්වලට යන්නෙ රාත්‍රී කාලයෙත් දහම් සාකච්ඡාවලට, අත්වැල් භාවනාවලට සහභාගි වෙලා ඊට පහුවදා උදේ. බොහෝ තරුණ උගත් පිරිස් රාත්‍රී කාලයෙත් දහම් සාකච්ඡාවලට සහභාගි වුනා. **තමන්ගෙ ගෙදර ඉඩකඩ නැත්නම් දර මැස්සෙ හරි කමක් නෑ ස්ථානයක් සකස් කරගෙන භාවනාව වඩල ප්‍රගුණ කරගන්න කියල තමයි එතුමා නිතරම කිව්වෙ.**

ඒ දවස්වල පුරුදු නැති නිසා අපි "අවංකයි පිරිසිදුයි පවිත්‍රයි පබසරයි" කියන භාවනාව වඩනකොට හරියට බය හිතුනා. මොකද සමහර වෙලාවට කළු අන්ධකාරයක් දැක්කා. ඒ බව එතුමාට කිව්වම එතුමා කිව්වෙ, හිතේ කෙළෙස් ඉවත් වෙනවා, බය නොවී දිගටම වැඩුව නම් යම් තැනකට පැමිණෙයි කියල. ඒ බය වීම නිසා අපි භාවනාව නවත්වපු බව කිව්වම, කෙළෙස් කුණු ගොඩ පිච්චෙනකොට ඉතිං කළු දුමාරය තමයි නගින්නෙ කියල එතුමා කිව්වා. ඒ හිටපු හැමදෙනාම තම තමන්ගෙ අත්දැකීම් කිව්වා. කීප දෙනෙක්ම සතර දැහැන් ලබා ගත්ත බවත් දැන ගන්න ලැබුනා.

පොහොය දවසක රාත්‍රී දහම් සාකච්ඡා පවත්වනකොට උපාසක අම්ම කෙනෙක් භාවනාවෙ ඉඳගෙනම එක පාරටම ක්ලාන්ත ගතියකට පත් වුනා. පස්සෙ අබේරත්න අනුසාසකතුමා කිව්වා, තමන්ගෙ වැඩේ ගැන හිතන්නෙ නැතිව අනෙක් අයගෙ භාවනාව කොහොමද කියල ඇය හිතපු නිසා ඒ වගේ දෙයක් සිද්ධ වුනා කියල. එහෙම කළේ නැත්නම් ඇය ධ්‍යාන මග ඵල සකස් කරගන්න බවත් කිව්වා. සමහර දවස්වල රාත්‍රී කාලයේ දහම් සාකච්ඡා පවත්වනකොට උපාසක අම්මල නිදි කිරා වැටෙනවා. සමහර අය නම් දිගා වෙලා නිදා ගන්නවා. මුලදිම එතුමා කියල තිබුනා, දහම් දේශනා කරන ස්ථානයේ දිගා වෙලා නිදා ගැනීම සුදුසු නැති බව. අපහසුම නම් නැගිටල ඉවතට ගිහින් පස්සෙ එන්න කියල කිව්වා. උපාසක මහත්වරු නම් ඒ වගේ අවස්ථාවල නැගිටල එළිමහනට ගියත් උපාසක අම්මලට ඒක කරන්න බැරි වුනා. **අනුසාසකතුමා නම් උදේ ධර්මාසනයේ වාඩි වුනාට පස්සෙ පහුවදා පහන් වෙලත් එක් කෙනෙක් හරි දහම් ප්‍රශ්න අහනව නම්, ඒ අය කෙරෙහි අනුකම්පාවෙන් ඇස් පියවන්නෙ නැතිවම දේශනා කරනවා.**

දවසක් පොහොය දවසක රාත්‍රී එතුමා මෙහෙම උපමා කතාවක් පිරිසට කිව්වා. මම බලාගෙන තමයි හිටියෙ. උපාසක අම්මල මාරුවෙන් මාරුවට නිදා ගන්නවා. කොටසක් නැගිටිනකොට තව කීප දෙනෙක් නිදා ගන්නවා. මම මෙතැන ඉඳීමෙන් වැඩක් නැහැනෙ කියල එතුමා නැගිටින්න දැහැත් වට්ටිය අතට ගත්තා. එතකොට පිරිස කිව්වා, අනේ මහත්තයා අපි ඇහැරගෙනම ඉන්නම් කියල. එතකොට එතුමා මෙහෙම කතාවක් කිව්වා. අපේ ගෙවල් පැත්තෙ මුස්ලිම් මුදලාලි කෙනෙක් කඩයක් දාගෙන බොහොම සාධාරණ විදිහට වෙළඳාම් කළා. කල් යනකොට තවත් කෙනෙක් වැඩිපුර බඩු මුට්ටු පුරවල කඩයක් දැම්මා. හැබැයි අර පරණ කඩේ වගේ සාධාරණ නම් නෑ. ඒ වුනාට මිනිස්සු අර පරණ

කඩේට යන්නෙ නැතිව අලුත් කඩේට යන්න ගත්තම පරණ වෙළෙඳන්දා දැන් අබලන් වෙලාලු. ඒ මනුස්සය දවසක් කිව්වලු, මම වෙන පළාතකට යනවා, මම කොහේ ගියත් සාධාරණයට තමයි වෙළඳාම කියල. ඒ ගමන ගමේ මිනිස්සු කියන්න ගත්තලු, අනේ මුදලාලි යන්න එපා ආයෙත් කඩ වෙළඳාම පටන් ගන්න අපි එනව බඩු ගන්න කියල. ඒ වගේ දෙයක් තමයි මෙතැනත් සිද්ධ වුනේ කියල එතුමා හිනා වෙලා නැගිටල ගියා.

**මොන තරම් පිරිකර පූජා කරල තිබුනත් එතුමා ඒවාට අතවත් තියන්නෙ නෑ.** දැහැත් වට්ටිය නම් එතුමාට අවශ්‍යමයි. සියලු සත්වයින් කායික මානසික රෝගයන්ගෙන් පෙළෙන බව පවසපු එතුමා, කායික රෝගවලට බේත් කසාය දෙමින් මානසික රෝගීන්ට දහම් ඖෂධ ලබා දෙමින් සුවපත් කළා. අනන්ත සසරේ අපි කළා වූ කුසල අකුසල කර්ම බලවේගම අපි කරා පැමිණෙන ආකාරය පටිච්ච සමුප්පාද ධර්මය අනුව හේතු ඵල පෙන්වා දෙමින්, ඒ අකුසල් ගෙවා ගන්නත් සසර දුකින් මිදෙන්නත් එන පිරිසට නිතරම අනුසාසනා කළා. සෙත් ආශිර්වාද, සමාධි දේශනා පවත්වන දවස්වලට එතුමා ඒ එන සියලු දෙනාටම ඒ පූජාවන් අතගස්සවල තෙරුවන් ගුණ දේශනා කරමින් හැම පූජාවක්ම පූජා කරවනවා.

**දෙවනුව ඒ උත්තම තෙරුවන් ගුණ බල මහිමයේ ආශිර්වාදයෙන්, ඇවිත් ඉන්න පිරිසට නිරෝගී සුවය පතල සමාධි දේශනාවෙන් ලෙඩ රෝග දුරු කරනවා. ඇවිත් ඉන්න පිරිසගේ හිසේ කෙස් ගහේ පටන් පිටතින් පෙනෙන ඇස, කන, නාසය ඇතුළු ඉන්ද්‍රියන්ගේත් ශරීරයේ ඇතුලත ඉස් මොළයේ පටන් ඇති අභ්‍යන්තර ඉන්ද්‍රියන්ගේත් නම් කියමින් හදවත, බඩවැල්, ආමාශය, ලේ නහර, ශිරා, වකුගඩු, මුත්‍රා මළ පද්ධති... ආදී ශරීරයේ ඇති යම් තාක් ඉන්ද්‍රියන්ගේ ලෙඩක්, රෝගයක්, විසක් ඇත්ද, ඒ සියලු ලෙඩ වින දොස් දුරුවෙන්න එතුමාගේ සුරතින් ආශිර්වාද කරමින් තෙරුවන් බල මහිමයෙන් ශරීරයෙන් පහලට අරගෙන කකුලේ මහපටැඟිල්ලට අරගෙන මහ පොළවට ඇදල දානවා. මහ පොළවේ කිසිම සතෙකුටවත් ඒ විස වැදෙන්න ඉඩ නොදී මහ සයුරට ඇදල දානවා. මහ සයුරෙන් කිසිම සතෙකුට ඒ විස නොයාවා කියල අධිෂ්ඨාන කරල මකර කටට ඇදල දාල සුනු විසුනු කරල දාන්නෙ සියලු සත්වයින්ටම පතල මෙත් කරුණා ගුණයෙන්.**

**ඒ මහා උතුම් සෙත් ආශිර්වාද පවත්වනකොට එතුමාගේ සුරතින් නැගෙන කිරණ බලය හැම කෙනෙක්ගෙම ශරීර වෙත ඇදිල එනවා. සමහර අයගෙ ශරීරවලින් ඒ කිරණ වැදිල යන ආකාරය අපිත් ඉඳල හිටල දැකල තියෙනවා. පොඩි දරුවෙක් දවසක් කිව්වා, මහත්තයගෙ අතින් ඉර පායනව වගේ කියල.** නොකැඩෙන සමාධි වතකින්ම ඉන්න අයට නම් මේ වගේ අවස්ථා දකින්න පුළුවන්. පෙර අත්බැව්වල තම තමන් කරපු අකුසල කර්ම නිසා මේ වගේ ලෙඩ රෝග ඇතිවෙන්න හේතු කාරක යෙදෙන නිසා, ඒ අකුසල කර්මයන්ට අනුව කළ යුතු වත් පිළිවෙත් පුද පූජා එතුමා සමාධි ඥානයෙන් දැකල කියනවා. ඒ නිසා ඒ එන පිරිස තමන්ට මොන තරම් කරදර බාධක තිබුනත් ඒ වැඩසටහන්වලට සම්බන්ධ වෙලා රෑ බෝ වෙලා තමයි නැවත ගෙවල්වලට යන්නෙ. බොහෝ ඈතින් එන පිරිස්වලට ගමේ අය නවාතැනුත් සලසල දීල තිබුනෙ එතුමාගේ මේ උතුම් සත් කටයුත්තට සහයක් විදිහට.

එක මවක් මියගිය තමන්ගෙ තරුණ දුව ගැන ඇහුවම එතුමා කිව්වෙ, ඒ ප්‍රාණකාරිය ආලෝකය නැතිව අන්ධකාරයේ ඉන්න නිසා පූජා දවසක දොළොස්මහේ පහනට තෙල් පූජා කරල තෙරුවන් ගුණ සිහි කරල ඒ දුවට පින් දෙන්න කියල. ඒ මව තෙල් පූජා කරන්නෙ නැතිව පූජාවට සහභාගි වුනා. එතුමා ඇහුවා, බුදු ගුණ මෙනෙහි කරල තෙල් පූජා කළේ නැත්තෙ ඇයි කියල. මියගිය ඒ ඥාති දුව ඇවිත් දොහොත් ඉහලට ඔසවමින් ඇයට ආලෝකය ලබා දෙන්න කියල ඉල්ලා සිටින බවත් කිව්වා.

තවත් දවසක් එක්තරා මහත්මියක් තමන්ගෙ ස්ථානයක සාස්තර කියමින් පූජා වට්ටි තියමින් මිනිස්සුන්ට සෙත් කරන බව කිව්වා. අබේරත්න අනුසාසකතුමා කරන වත්පිළිවෙත්වලත් ඇය කරන වත්පිළිවෙත්වලත් වෙනසක් නෑ කියල කියපු ඇය, එතුමා කියන දේ පිළිගන්න අකමැති වුනා. ඇය පූජාවට සහභාගි වුනත් හිත රඳවගෙන තියෙන්නෙ ඇගේ වත්පිළිවෙත් කරන ස්ථානයේ. දවසක් හනුමන්තා කියන දේවාතාවා ඇවිත් ඇගේ පූජා වට්ටිවලට වලිගයෙන් ගහල බිම දාල ඇයට කියල තිබුනා, උඹ මේ උතුමා කියන උතුම් දහම අහගෙන තෙරුවන් ගුණයට පවත්වන පූජාවලට සහභාගි වෙලා ඒ උතුම් පින මට අනුමෝදන් කරපන්



ගිහිවතක සිටියදී

කියල. ඇය ඒ අවවාද පිළිගත්තද කියල නම් දන්නෙ නෑ කියල අනුසාසකතුමා කිව්වෙ, හනුමන්තා දේවතාවා ඒ ක්‍රියාව කරපු ආකාරය ගැන. එහෙම නැතිව එතුමා කිසිම දවසක කිසිම කෙනෙකුට නිගරු කළේ නෑ. හැමෝගෙම හිත්වල තියෙන මාන උද්දච්ච ගති පෙන්වල ඒවා ඉවත් කරගෙන මේ භව දුක නැති කරගන්න අවවාද අනුසාසනා තමයි කළේ.

කාලයක් යත්දි ඒ ස්ථානයෙත් යම් යම් ප්‍රශ්න ඇති වුනත් සංවිධායක මණ්ඩලයත්, ගමේ දායක පිරිසත් එකතු වෙලා ඒ ප්‍රශ්න නගපු අයට කරුණු කාරණා අවබෝධ කරදීම නිසා ඒ පිරිස් ඇතුළු ගමේ ප්‍රභූ පිරිසත් ඒ ස්ථානයට සහයෝගය දීල මේ උතුම් වැඩපිළිවෙල අනුමත කළා. **ඇතා පොල් කටවුකින් වහල තියන්න** බෑ කියලයි ඒ අවස්ථාවෙදි එතුමා කිව්වෙ. නැගී එන පූර්ණ චන්ද්‍රයා වගේ සොමි රැස් විහිදුවමින් එතුමාගේ උත්තම පැතුම් මතු වෙලා ආවෙ ගිජිදාගම ගමේ ඒ පුණ්‍ය භූමිය තුල ගත කරන කාලය තුල. එතුමා මේ විදිහට ලෙඩ සුව කරන්නෙ කොහොමද කියල ඒ කාලයේ ප්‍රශ්නයක් මතු වුනා. පෙර ලොව පහල වූ මහා කාශ්‍යප බුදු පියාණන් වහන්සේගෙන් ලබා ගත්ත ශ්‍රාවක විවරණ ගුණ බලයෙන්ම, ඒ පුරපු පාරමිතා ගුණ බලයෙන්ම, ඒ අධ්‍යාත්මික ශක්තිය මතු වෙලා තියෙන බවත් එතුමා කියල තියෙනවා.

**මෙලොව වශයෙන් ලෙඩ රෝග සුව වුනත් භව දුක නැති කළේ නැත්නම් ලෝ සතුන් සතර අපා දුක කියන රෝගයෙන් පෙළෙන බව එතුමා හැමෝටම පහදල දුන්නා.**

යක්ෂ, අමනුස්ස... ආදී බලවේග ඇඟට ඇතුල් වෙලා පීඩාවලට ලක් වෙච්ච පිරිස් ඒ උපද්‍රව දුරු කරගන්න මේ පූජාවන්ට සහභාගි වෙනවා. එතුමා පූජා පවත්වල තෙරුවන් ගුණ දේශනා කරල පුණ්‍යානුමෝදනා කරල සෙත් පතත්දි, ඒ අමනුස්ස බලවේග තියෙන අය ඒ අයට අවශ්‍ය ලේ, බිලි බිලි ආදිය ඉල්ලා හිටිනවා. එතුමා ඒ අයටත් මහත් කරුණා සිතින් කියන්නෙ, මම ඒ හැම දෙයක්ම නුඹලාට අවශ්‍ය පරිදි කිසිම අඩුවක් නැතිව ආකාසයේ මව මවා දෙනවා, ඒ දේ අරගෙන වෛර ක්‍රෝධ සිත් අත්හැරල මේ ශරීර තුලින් ඉවත් වෙලා සුගතිගත වෙන්න කියල. ඒ විදිහට අමනුස්ස පිරිසටත් සෙත් ආශිර්වාද ලබා දීල පුණ්‍යානුමෝදනා සිද්ධ කරල ඒ පිරිසත් අපා දුකින් ගොඩ දානවා.

තවත් දවසක් කෙනෙක් එතුමා එක්ක සාකච්ඡා කරල යත්දි, ඔහුගෙ පිටුපසින් වානරයෙක්ගෙ වගේ දිග වලිගයක් ඇදිල ගිය බව කිව්වෙ, **කොච්චර දහම් අවබෝධ කරගත්ත කිව්වත් මිනිස්සු තුල තියෙන මාන්න සිත් ලේසියෙන් දුරු නොවෙන බව** කියමින්. එතුමා අප්‍රමාණ දිව්‍ය, බ්‍රහ්ම, මනුස්ස, අමනුස්ස වගේම සතර අපාගත සත්වයන්ටත් ආශිර්වාද පතුරුවමින් ඔවුන්ගෙ දුක් ගිනි දාහ ගිනි නිවල සෙත් අමා සුවය ලබා දුන්න ආකාරය නම් අප්‍රමාණ වුනත්, මම මේ කියන්නෙ අහල දැනගත්ත, දැකගත්ත මතකයේ තියෙන අංශු මාත්‍ර විස්තරයක් විතරයි.

අපි එතුමා විසින් පවත්වපු හැම පිං කටයුත්තකටම සහභාගි වුනේ ඒ හැම දේකින්ම අපිට අප්‍රමාණ සෙතක් සහනයක් ලැබුන නිසා. ඇස් අන්ධ පුතාගේ මස් ලේ ඇහැ සුවපත් කරගන්න ගිහින් අපේ ගෙදර හැම දෙනාටම ප්‍රඥා ඇහැත් පාදගන්න පුළුවන් වුනා. ඒ කාලෙ ගෙදර ප්‍රශ්න කරදර අප්‍රමාණයකට අපි කොටු වෙලා හිටියෙ. එතුමා දේශනා කරපු දහමේ ගැඹුරු බව, අරුත් බව, වටිනාකම... ආදී ගුණයන් දැන් දැන් මතු වෙලා එන්නෙ, ඒ දුක් කරදර බාධක මැද්දෙම දහම් පසුපසම ගිහින් අනේකවිධ උතුම් පූජාවන්ට සහභාගි වීම නිසා ලබා ගත්ත කුසල බල ශක්තීන් සහ එතුමාගෙන් ලබා ගත්ත ආශිර්වාද බල මහිමයන් නිසා බව දැන් නම් හොඳටම වැටහෙනවා.

එතුමා නැවත මතු කරල දුන්න ශ්‍රී සද්ධර්මයට ගරු බැති සිතින් පූජා පවත්වපු හැම දෙනාටත්, අපහාස උපහාස කළ අයටත් එතුමා පළ කළේ නම් එකම උපේක්ෂා සහගත මෙත් සිතක්.

යහපත් ගුණය ගෙන බැලු විට කිසිම තැන
මහ බල කොවුල් ගෙන සිටුවා පොළව කැන
යටතින් සතරකින් එක් පංගුවක ගෙන
උඩු වෙත සිටින ලෙස තැබුවොත් වටද එන

සුළඟින් කිසිම විට කම්පා කරවන්න
බැරිවෙයි එබඳු ඇති අනු සොබවය කින්න
එම තතු දකින සඟ රත්නයෙ ගුණ ගොන්න
කැළඹිය නොහැක කිසි අටලෝ දහමින්න

කෙනෙකුට කයට ඇති විස ගති ලෙස වන්න
ඉරිසියාව සහ වෛරය එලෙසින්න
සැම පළි ගැනුම් දුරු කර මෙත් ගුණයෙන්න
සඟ සෙත් බලය ඒවා සැම සෙත දෙන්න

දුක් නැති විලස හැම යහපත ඇති වෙනවා
තුම් බල මහිමයෙන් ලොව සැනසුම දෙනවා
මහ සඟ රත්නයේ එම ගුණ මතු වෙනවා
කම්පා නොමැත සිත් ලොවටම සෙත දෙනවා

යහපත සොයා සැනසුම දෙන මග යන්න
සමවත නගා තුම් අරහත් ගුණ ගන්න
යහපත දෙවන සමවත් සුව ලැබ ගන්න
සැනසුම සොයා පිට වුනි වනයට මෙන්න

සිහියෙන් එදා ගිහි ගෙය අතහැර යනවා
අරගෙන කසාවත සිරුරට පළඳනවා
ගෙන මැටි පතක් උරහිස මත තබවනවා
හිස කෙස් කැටිව ගොස් කැටි කැටි කරවනවා

එමදා රජෙකි අද තවුසෙකි පුදුම ලෙස
ගුණවත් කෙනෙකි හොඳ තපසෙකි සියළු ලෙස
නැණවත් කෙනෙකි පැන විසඳති මෙලොව කුස
සමවත් දෙවති එම ගුණ දෙති සැමට කිස

අබේරත්න අනුසාසකතුමා කුඩා කාලයේ පටන්ම උතුම් පැවිදි බවට පත් වෙන්න අවස්ථාව හෙව්වත් ඒ හැම අවස්ථාවක්ම මග හැරිල ගිය බවත්, ලෝකයට පහල වුන බුදු පියාණන් වහන්සේලා දැකල තියෙන බවත්, උන්වහන්සේලාගෙන් ශ්‍රාවක විවරණ ලබා ගෙන තියෙන බවත් කියල තිබුනා. සිදුහත් මහා බුදු පියාණන් වහන්සේගෙ කාලයේ, මතු කාලයක ශ්‍රී සද්ධර්මය හරි ආකාරයට අර්ථ මතු කරල දේශනා කරල ලෝක සත්වයා නිවනට පත් කරන්න ලැබූ විවරණ / පැතුම් ගිහි ජීවිතයේ මුල් කාලයේ පටන්ම ඉටු කරල දුන්නත්, උතුම් පැවිදි දිවියට පත් වෙන්න අවස්ථාව සැලසුනේ පසු කාලයකදි.

බුදු පිය රජිඳුනි එම පෙර කාලේ
ඔබට පුදා නෙළුමක් පිස තාලේ
සුවඳ කැවූ කිරිබත් එම සාලේ
පැතුව පැතුම් ලෙස දෙමි සෙත් වාලේ

එතුමා පැවිදි දිවියට පත් වීම නිසා සතුටට වගේම දුකටත් උපේක්ෂාවටත් පත් වෙච්ච පිරිසටත් **"මම, මගේ" කියන හැඟීමෙන් තම තමන් ප්‍රිය කරන පුද්ගලයන්, දේපොළ, වස්තු ගැන කියමින් ඉන්න තාක් කල්, මේ භව ගමන කෙළවර කරන්න බැරි බවත් පහදල දීල, ඒ සිතිවිලි සිතින් අයින් කරල භව ගමන කෙළවර කරගන්න කියලත් දේශනා කළා.**

මතු මා උපත නැත මෙම දුක හැර යන්නේ
සම්මා ගුණෙනි ලොව වටහා ගෙන ඉන්නේ
එම හේතුවෙනි මෙම දුක මම හැරලන්නේ
සම්මා සම්බුද්ධ ගුණ කඳ දකිමින්නේ

හැමටම බුදු සුවෙන් යහපත සිදු කෙරුවා
බුදු රජ දෙසු දහම ඒ විලසට දෙසුවා
දැන් එම ගුණෙන් මග ඵල දහමද සැදුවා
සැමටම බුදු සරණ දම් සුවයම පැතුවා

මුනිඳුන් ළඟ සිටම ආ ලෙස ගුණ වැඩිලා
සමවත් සුවෙන් පිරිසිදු බුදු බණ දැකලා
බුදු ගුණ සිහියෙ කම්පා නැති සුව සදලා
අපි අද සිටිමු නිවනම ලබනෙමු සිතලා

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



ලුණු වරණ



ගොඩ මානෙල්



දිය පෙතං



දිය පරිප්පු

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 17

දුර්ලභව ලැබූ මනුස්ස අත්භවය වස විස ආදී ප්‍රයෝග විපත්තිවලින් විනාස වෙන්න ඉඩ නොදී ආරක්‍ෂා කර ගැනීමේ අරමුණින්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වස විස ආහාරවලට එරෙහිව භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා දේශීය ආහාර වර්ග කිහිපයක් වර්තමාන සහ පශ්චිම ජනතාවගේ හිත සුව පිණිස මෙවරත් හඳුන්වා දෙනවා.

**රතු ළූණු** - හැමෝම දන්න නමුත් ඖෂධීය ගුණ හරිහැටි නොදන්නා නිසයි විස්තර කරන්නෙ. දැනට වෙළඳපොලෙන් පමණක් මිලදී ගන්න සිද්ධ වුනත් තමන්ගෙ ගෙදර මල් පෝච්චියක හෝ කුඩා ඉඩක හෝ වගා කරගන්න පුළුවන්. ඖෂධීය ගුණ ගත්තොත් පොදුවේ තුන් දොස් සමනය කරනවා. ශරීරයේ සියලු ශ්‍රාවීය ග්‍රන්ථි රතු ළූණුවලින් උද්දීපනය කරනවා. ආහාර රුචිය වඩවනවා. ආහාර ජීර්ණ පද්ධතිය සක්‍රිය කරනවා. **උෂ්ණාධික ආහාර නිසා, රක්ත උෂ්ණය නිසා කට ඇතුලෙ තුවාල, වණ, සුදු ළප ඇති වෙලා තියෙන අවස්ථාවක, තොල් පැලීම් ආදියට, රතු ළූණු ගෙඩි 3 - 4 ක් සුද්ධ කරල කටේ දමාගෙන කට අරින්නෙ නැතිව හොඳින් හපල ගිලීමෙන් ඒ තුවාල, වණ... ආදිය සුව වෙනවා. ඒ විදිහට තුන් වරුවක් කිරීම ප්‍රමාණවත්.** මේකත් අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් හඳුන්වා දුන් අත්හදා බලපු ක්‍රමවේදයක්.

ඒ වගේම අම්ල පිත්ත ප්‍රදාහය නිසා ආමාශයේ සහ බඩවැලේ ඇතිවන තුවාලත් රතු ළූණුවලින් වහා සුව කරනවා. අර්ශස් රෝගයේදී හට ගන්නා ගෙඩි පුපුරල ලේ යාම වහා සමනය කරනවා. සියලු පීනස් රෝගවලට ගුණදායකයි. **නාසයෙන් හොටු දියර ගැලීම, ලේ ගැලීම, උදේ පාන්දර කිවිසුම් යාම වහා සුව කරනවා.** මේ රෝග තත්ත්වයන් සඳහා අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් හඳුන්වා දුන් බේතක් පහත දැක්වෙනවා.

**රතු ළූණු ග්‍රෑම් 100 ක්, හීන් ගොටුකොළ / බේත් ගොටුකොළ සහමුලින්ම ග්‍රෑම් 100 ක් අරගෙන වතුර නොදා කොටාගෙන පෙරාගෙන එන ඉස්ම ටිකට (රතු ළූණු ඉස්ම අඬු කෝප්ප 1/2 ක් සහ ගොටු කොළ ඉස්ම අඬු කෝප්ප 1/2 ක් පමණ) පිරිසිදු මී පැණි තේ හැන්දක් එකතු කරල රත් කරන්නෙ නැතිව උදේ හිස්බඩ පානය කරන්න. ඒ විදිහට දින 28 ක් පානය කිරීමෙන් ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ඉහත රෝගී තත්වයන් නිට්ටාවට සුව වෙනවා.** හැබැයි මේ බේත හදනකොට මළ කන යකඩ පිහි, යකඩ වංගෙඩි භාවිතා නොකළ යුතුයි. ඒ සඳහා ගල් වංගෙඩි, ලී වංගෙඩි, සුදු යකඩ පිහි, මිශ්‍රණ යන්ත්‍ර භාවිතා කරන්න පුළුවන්.

ඒ වගේම **අර්ශස් රෝග සඳහාත් උන්වහන්සේ විසින් රතු ළූණු ඇසුරින් හඳුන්වා දුන් එක්තරා කෙම් ප්‍රතිකාරයක් පහත සඳහන් කරනවා. වතුර නොදා රතු ළූණු ඉස්ම අඬු කෝප්පයක් සකස් කරගන්න. ඊළඟට කොහිල කොළ, දළු, මුල්, අල එකට කොටාගෙන වතුර නොදා ඉස්ම අඬු කෝප්පයක් අරගෙන අර හදා ගත්ත රතු ළූණු ඉස්ම ටිකට මිශ්‍ර කරන්න. ඉන්පසු භාවිතයට ගත්ත කැති තලයක් හෝ මන්න පිහි තලයක් ලිපට දමා රත් පැහැ ගැන්වෙන කල් රත් කරල, යටින් ඇළුමිනියම් හෝ ප්ලාස්ටික් නොවන භාජනයක් තියල රත් වෙච්ච කැති / මන්න පිහි තලයට අර මිශ්‍රණය හෙමින් වත් කරන්න. එතකොට එයින් යම් ප්‍රමාණයක් වාෂ්ප වෙලා ඉතිරිය යට තියෙන භාජනයට එකතු වෙනවා. ඒ ටික පිරිසිදු පෙරහන් කඩකින් පෙරාගෙන මඳ උණුසුමෙන් පතක් පමණ (අඬු කෝප්ප තුන් කාලක්) පානය කරන්න.** මේ විදිහට දින 7 ක් රාත්‍රියට පමණක් කෑමට පෙර හෝ පසු ගන්න. ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව නිට්ටාවට සුව වෙනවා. **අර්ශස් ගෙඩි පුපුරල ලේ යාම, අධික දැවිල්ල සහ වේදනාව, මළබද්ධය වහා සුව කරනවා.** හැබැයි මේ ක්‍රමයට බේත වැඩිපුර හදාගෙන තියාගෙන දවස් කිහිපයක් පාවිච්චි කරන්න බෑ. දවස ගානෙ වෙනම හදාගෙන පාවිච්චි කළ යුතුයි.

ඒ වගේම, පුළුවන් හැම අවස්ථාවකම රතු ළූණු අමුවෙන් ආහාරයට එකතු කර ගැනීම තමයි වඩාත් යෝග්‍ය. එතකොට ඖෂධීය ගුණ ඒ ආකාරයෙන්ම ශරීරයට ලැබෙනවා. වෙළඳපොලේ තියෙන රතු ළූණුවලට නොයෙක් රසායන ද්‍රව්‍ය මුසු වෙලා තියෙන්නෙ පුළුවන් නිසා, තමන්ගෙ ගෙවත්තෙ මල් පෝච්චියක හෝ බීජ කිහිපයක් පැළ කරගෙන වස විසවලින් තොරව හදාගන්න පුළුවන් නම් වඩා හොඳයි.

**ලුණුවරණ** - කාෂ්ට තැන්වල, ගල් දොරුවල (ගල් පර්වත දෙකක් අතර) සහ වෙනත් ශාකයක ආධාරයක් සහිතව ස්වභාවිකව හට ගන්නා ඉතා විසාල

පඳුරු ආකාරයෙන් වැඩෙන ශාකයක්. මේ ශාකයේ ලීය බොහොම නැමෙන සුළු නිසා හෙළ වෙදකමේදී කැඩුම් බිඳුම් සඳහා බහුලව යොදා ගන්නවා. අස්ථි ආශ්‍රිත ආසාදන, මුත්‍රා දැවිල්ල ඇතුළු මුත්‍රා පද්ධතිය ආශ්‍රිත රෝග, වකුගඩුවල කාරම් බැඳීම... ආදී රෝගී තත්ත්වයන් සඳහා ඉතා ගුණදායකයි. ඒ වගේම ආහාර ජීර්ණයට අවශ්‍ය එන්සයිම නිපදවීම උත්තේජනය කිරීම, අංගුලිකා තුල බැඳිල තියෙන කාරම් ඉවත් කිරීම, මලබද්ධය දුරු කිරීම ලුණුවරණ ආහාරයට එකතු කර ගැනීමෙන් සිද්ධ වෙනවා. ලුණුවරණ දළු කොළ ඉතා ප්‍රණීත ව්‍යංජනයක් හෝ පලා සම්බෝලයක් හෝ කැඳක් වශයෙන් හෝ සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**ගොඩ මානෙල්** - විසිතුරු ශාකයක්, වෙදකමට ඖෂධයක් වගේම, රසවත් ව්‍යංජනයක් වශයෙනුත් යොදා ගන්න පුළුවන්. අඟල් 10 - 12 ක් විතර උසට හැදෙන සිහින් ළා කොළ පාට පත්‍රවලිනුත් ළා රෝස පැහැයට හුරු පියකරු මලකිනුත් යුක්තයි.

ඖෂධීය වටිනාකම ගත්තොත්, සියලු ශීර්ෂ රෝග සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. සියලු ස්නායු සක්‍රිය කරනවා. බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කරනවා. ඇස් පෙනීම තීව්‍ර කරනවා. වාජීකරණ ගුණයෙන් යුක්ත නිසා දරු ඵල බලාපොරොත්තු වන අයටත් යෝග්‍යයි. ගොඩ මානෙල් **කළු කිරණ අවශෝෂණය කරගෙන සුදු කිරණ විතරක් පරිසරයට මුදා හරින නිසා නිවෙස් ඉදිරිපිට රෝපණයටත් සුදුසුයි.** ගොඩ මානෙල් කොළ සාමාන්‍ය මැල්ලුමක් හෝ ව්‍යංජනයක් ලෙසත්, බැදුමක් ආකාරයටත් සකස් කරගෙන ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම සහමුලින්ම කැඳක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්.

**දිය පරිප්පු** - තෙතමනය සහිත මඳ හෙවණ තියෙන ගල් ආශ්‍රිතවත්, පස් කඳු ආශ්‍රිතවත් ඉතා බහුලව දකින්න පුළුවන්. අතු බෙදිල පොළව බදාගෙන කුඩා පඳුරු ආකාරයට හැදෙන, පරිප්පු ඇටයට සමාන ළා කොළ පැහැයට හුරු පත්‍ර රාශියක් දකින්න පුළුවන් ශාකයක්. වල් පැළෑටියක් වශයෙන් සළකල නොසළකා හැරියත් හෙළ වෙදකමේදී ඉතා වටිනා ඖෂධයක්.

අම්ල පිත්ත ප්‍රදාහය තියෙන අයට උදේ පාන්දර හිස්බඩ ගහ සහමුලින්ම කැඳක් වශයෙන් සකස් කරගෙන ආහාරයට ගැනීමෙන් ඒ තත්ත්වය සුව කරගන්න පුළුවන්. ඒ වගේම රක්ත උෂ්ණයෙන් හට ගන්නා සියලු රෝගී තත්ත්වයන් සමනය වෙනවා. ආමාශයේ සිවි වේළීම, බඩවැල්වල සිවි වේළී යාමෙන් හට ගන්නා මළ බද්ධය වහා දුරු කරනවා. දීර්ඝ කාලයක් ආමාශය තුලින්, අංගුලිකා තුලින් ගලන එන්සයිම එකතු වීමෙන් හට ගන්නා කාරම් ස්වභාවය දිය කිරීමේ සුවිශේෂීය ගුණයෙන් යුක්තයි. ඒ වගේම **උගුරේ ස්වර තන්ත්‍ර වේළීමෙන් හට ගන්නා උගුර බැරුන්ඩිය, උගුරේ සෙම බැඳිල ඉවත් නොවී කතා කරනකොට වචන පිට නොවීම, කතා කරන දේ අන් අයට නොතේරෙන තරම් උගුරේ වේදනාව සමග එන උගුර බැරුන්ඩිය වහා සුව කිරීමේ ගුණයෙන් යුක්තයි. පැය 8 ක් විතර දර ලිපක පුච්චා ගත් ගුරු ගල් (ඇල දොලවල්වල, ගෙමිදුලේ තියෙන ගුරු පාටට හුරු විවිධ හැඩයෙන් යුත් කුඩා ගල් කැබලි) කුඩු කරල වතුර නොදා පිහදාල, දිය පරිප්පු හෝ දිය තිප්පිලි ඉස්මෙන් වතුර නොදා අඹරල උගුරු දණ්ඩ ඇතුළු බෙල්ල ඉදිරිපස ප්‍රදේශයේ උදේ වරුවේ අවම වශයෙන් විනාඩි 45 ක් ගල්වා තැබීමෙන් ඒ තත්ත්වය වහා සුව වෙනවා.**

කොළ දළු සාමාන්‍ය පලා ව්‍යංජනයක් හෝ පලා සම්බෝලයක් හෝ කොළ මැල්ලුමක් ආකාරයට හෝ තෙම්පරාදු කරල හෝ සකස් කරගෙන ආහාරයට එකතු කරගන්න පුළුවන්.

**දිය හවරිය** - ගලාගෙන යන කුඩා දිය පාරවල්, ඇල පාරවල්, කුඹුරුවල දෙපා වේලිවල ස්වභාවිකව වැවෙන, ගලා යන ජලයේ විතරක් හට ගන්නා තද කොළ පැහැයටත්, තරමක් රතු පැහැයටත් හුරු පඳුරු විශේෂයක්. කාන්තාවන්ගේ හවරියක්, ගලාගෙන යන ජල පාරකට දැම්මම ගහගෙන යන ආකාරයට බාහිරින් බැලුවම පේනවා. අඟල් බාගයක්, අඟලක් තරම් පළලට අඩි 2 - 3 ක් දිගට පත්‍ර හට ගන්නවා. හෙළ වෙදකමේදී ඖෂධයක් ලෙසත්, වස විසවලින් තොර රසවත් ආහාරයක් ලෙසත් හඳුන්වන්න පුළුවන්. සියලු පීනස් රෝග සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. හිස කෙස් ගැලවී යාම, අකලට හිස කෙස් පැසීම, වැටීම... ආදී සංකූලතා මග හරවනවා. හිසරදය, ඉරුවාරදය... ආදී රෝගී ස්වභාවයන් සමනයට පත් කිරීමේ ගුණයෙන් යුක්තයි. ඒ වගේම ඇසේ සුද ඉවත් කිරීමේ ගුණයෙන් යුක්තයි.

**දීර්ඝ කාලයක් ආහාරයට එකතු කර ගැනීමෙන් ඇසේ සුද ක්‍රමානුකූලව දිය වෙලා ප්‍රකෘති තත්වයට පත් වෙනවා.** කනේ සන වෙච්ච කලාඳුරු දිය කරනවා. කලාඳුරු තද වීමෙන් හට ගන්නා කනේ ආබාධ සුව වෙනවා. ශරීරයේ සියලු නැන්වල තද වෙච්ච සෙම ක්‍රමානුකූලව ඉවත් කරනවා. නිරන්තරයෙන් ආහාරයට එකතු කර ගැනීමෙන් හිස කෙස් වර්ධනය තීව්‍ර කරනවා. ඒ වගේම ස්නායු පද්ධතියේ සහ රුධිර නාලවල තියෙන විස කාරම්, අනවශ්‍ය මේදය තැන්පත් වීමෙන් හට ගන්නා සංකූලතා (හෘද රෝග) ක්‍රමානුකූලව යථා තත්ත්වයට පත් කරනවා. දිය හවරිය ආහාරයට එකතු කර ගැනීම හෘද රෝගීන්ට, වකුගඩු අක්‍රිය වෙච්ච රෝගීන්ට, දියවැඩියා සහ පිළිකා රෝගීන්ට ඉතාමත් ගුණදායකයි.

සාමාන්‍ය පලා ව්‍යංජනයක්, පලා සම්බෝලයක්, මැල්ලුමක්, බැදුමක් හෝ සාමාන්‍ය කැඳක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන් ඉතා වටිනා ඖෂධයක්.

**දිය පෙතං** - හෙවණ සහ තෙතමනය සහිත ඕනෑම තැනක පොළව බදාගෙන දුවන කුඩා පැළෑටියක්. අතු අග දම් පාට කුඩා මල් හට ගන්නවා. මල අග සුදු පැහැතියි, පුෂ්පිලාකාරයි. මල මැද දිවක් එළියට දමාගෙන සිටින ආකාරයටත් දිස් වෙනවා. ඒ නිසා සමහර පළාත්වල දිව පෙතං කියල හඳුන්වන්නෙත් මේ පැළෑටියමයි. කොළ පැහැයෙන් යුක්ත දැති සහිත පත්‍ර සමමිතිකව අතුවල පිහිටල තියෙනවා.

වල් පැළෑටියක් වශයෙන් සළකල ඉවත දැම්මත් ඉතා වටිනා ඖෂධයක්, රසවත් එළවළුවක්. ශරීරයේ සියලු ඉන්ද්‍රියන්ගේ බැඳිල තියෙන කාරම් හෝ ඉන්ද්‍රියන් අකර්මණ්‍ය කරන්න බලපෑ වෙනත් හේතුවක් ඇත්නම්, ඒ සියල්ල ක්‍රමානුකූලව දිය කරල ශරීරයෙන් බැහැර කරවනවා. මුත්‍රා ආසාදන සඳහා වහා ක්‍රියාකාරී වෙනවා. මළ බද්ධය දුරු කරනවා. මුත්‍රාශයේ හෝ වකුගඩුවල කැල්සියම් තැන්පත් වීමෙන් හට ගන්නා සියලු ආබාධ දුරු කිරීමේ ගුණයෙන් යුක්තයි. අම්ල පිත්ත ප්‍රදාහය තියෙන අයටත් ඉතා සුදුසුයි. අර්ශස්, භගන්දරා රෝගීන් නිරන්තරයෙන් ආහාරයට එකතු කර ගත යුතු ඖෂධයක්.

ගහ සහමුලින්ම සාමාන්‍ය කැඳක් සකස් කරන ආකාරයටත්, මුල් හැර මල් ඇතුළු ඉතුරු සියල්ල සාමාන්‍ය එළවළු ව්‍යංජනයක්, මැල්ලුමක්, පලා සම්බෝලයක් ආකාරයටත් සකස් කරල ආහාරයට එකතු කරගන්න පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**





# වකුගඩු අක්‍රිය වීම

## ඇතුළු තවත් රෝග රැසකට සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් බෙහෙත් සමාධියෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගයට බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප දෙකෙන් (88, 89) විස්තරාත්මකව ඉදිරිපත් කළා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ වකුගඩු අක්‍රිය වීම ඇතුළු ඒ ආශ්‍රිත රෝගවලටත්, තවත් රෝග රැසකටත් ප්‍රත්‍ය වෙන, උන්වහන්සේ විසින්ම බෙහෙත් සමාධියෙන් මතු කර දුන් තවත් ප්‍රබල බෙහෙත් වර්ග කිහිපයක්.

මේ සඳහන් කරල තියෙන අමුද්‍රව්‍ය ප්‍රමාණයන් එක්තරා අනුපාතයකට සඳහන් කරල තියෙන නිසා, තමන්ට අවශ්‍ය පරිදි ඒ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්න පුළුවන්. ඒ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදීමත්, ඒ වගේම ඒ බෙහෙත් හදන අවස්ථාවලදීත් මේ සඟරාවෙන් මීට පෙරත් සඳහන් කරපු ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. **පින්වතුන්ගේ පහසුව පිණිස මේ ප්‍රබල බෙහෙත් වර්ග කිහිපයක් දැනටමත් නිෂ්පාදනය කරල වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.**

ඒ වගේම විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, **මේ වගේ රෝගවලට කර්ම විපාකත් මුල් වෙන නිසා ඒවාට බෙහෙත් කරන්න පෙර ඒ කර්ම වේග යම් පමණකට ගෙවා හරින්න මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83 කලාප) සාසනික ප්‍රතිකර්ම අනුගමනය කරන්න. ඊට අමතරව, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සෑම මසකම පළවෙනි සහ තුන්වෙනි සෙනසුරාදා පැවැත්වෙන විශේෂ ආශිර්වාද බුද්ධ පූජාවට සහභාගි වීමෙනුත් ඒ කර්ම වේග යම් පමණකට ගෙවා ගන්න පුළුවන්. ඒ විදිහට කර්ම වේග ගෙවා හරින්න කටයුතු කළේ නැත්නම් මේ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාම තමයි හට ගන්නෙ. ඒ විදිහට අනන්ත සසරෙ පටන් තෙරුවන් ඇතුළු ගුණ වඩපු උත්තමයින්ටත්, අන්‍ය සත්වයින්ටත් වෙච්ච අවැඩ අසාධාරණවලට විපාක විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ බේත් හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.** ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන හේතු ඵල අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කළ යුතුයි. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බේතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

### පාකින්සන්, වකුගඩු අක්‍රිය වීම ඇතුළු තවත් රෝග රැසකට සුව දෙන අරිෂ්ටයක්...

අවශ්‍ය අමුද්‍රව්‍ය :- අමු බැලතණ සහමුලින්ම කිලෝ 2 යි, අමු ඊතණ සහමුලින්ම කිලෝ 1 යි, පඹුරු කොළ ඇතුළු පැඟිරි කොළ වර්ග 5 ක් අමු බරින් ග්‍රෑම් 200 බැගින් (පඹුරු, දෙහි, යකිනාරං, දොඩම්, නාරං), නිල් මානෙල් මල් ග්‍රෑම් 500 යි. මේවා කොටාගෙන නිවා ගත් උණු වතුර දමා බෝතල් 16 ක් වෙනකල් මිරිකගන්න. ඒ කියන්නෙ බෝතල් 16 ට වැඩි ප්‍රමාණය ඉවත් කරල ගන්න. (බැලතණවලට වතුර බෝතල් 8 යි, ඊතණවලට බෝතල් 4 යි, කොළ වර්ගවලට බෝතල් 4 යි, මල්වලට බෝතල් 2 යි.)

දෙහි ඇඹුල් හෝ ස්වභාවික පොල් විනාකිරි මිලිලීටර් 600 යි, තලපිති ඉස්ම මිලිලීටර් 600 යි, නෙල්ලික්කා විස ඉවත් කරල ග්‍රෑම් 5 යි, ඇට ඉවත් කරල අඹර ගත්ත රටඉඳි කිලෝ 3.6 යි, කර වෙන මට්ටමට බැදගත් සුදුරු, මහදුරු ග්‍රෑම් 50 බැගින් (වර්ග දෙකම වතුර බෝතල් 1.2 ක් හෙවත් මි. ලී. 1,200 කට දිය කරගන්න), පොල් රා බෝතල් 1.5 යි.

දැන් මේ සියල්ල මිශ්‍ර කරල කනක්කයක දමා දින 21 ක් පොළව යට තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න. උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි එකහමාර බැගින් මාස 3 ක් ගැනීම ප්‍රමාණවත්. තැලසීමියා සහ පාකින්සන් රෝගවලට සුව වෙනකල් භාවිතා කරන්න.

අපි ගන්නා ආහාරපානවල තියෙන වස විස කැවීම නිසාත්, සර්පයින්, කෘමි සතුන්, ගෝනුසු, පත්තෑයන්... ආදී සතුන් දෂ්ට කිරීම නිසාත් හට ගත් සියලු විස හේතුවෙන් පසුකාලීනව හට ගන්නා සියලු ආබාධ, ඒ වගේම විවිධ පුද්ගලයන් විසින් දීල තියෙන ඉනා... ආදී වස විස නිසා හට ගත් සියලු ආබාධ ඇතුළු ශරීරයේ හට ගන්නා සියලු විසමතාවයන් මේ අරිෂ්ටය මගින් වහා සමනය කරනවා.

ඒ වගේම ඇට මිදුළු තුල ඇතිවන අසංකූලතාවයන් නිසා හට ගන්නා සියලු ආබාධ, ආතරයිටීස්, ඔස්ටියෝපෙරෝසීස්, රතු රුධිරානු සහ සුදු රුධිරානු නියමාකාරයෙන් නිෂ්පාදනය නොවීම නිසා හෝ විසමතාවය නිසා හට ගන්නා සියලු රෝගාබාධ, නිදන්ගත සියලු සෙම් රෝග, හතිය, ඇදුම, කෝටරක තුල සෙම තද වීමෙන් හට ගන්නා සියලු රෝග, පීනස් රෝග, ඉරුවාරදය, නිව්මෝනියාව ආදී රෝග සඳහාත් ප්‍රත්‍යක්ෂයි.

ඒ වගේම මොන විදිහකින්වත් සුව වෙන්නෙ නැති අධික සෙම් ආබාධ නිසා හට ගත් තරබාරු බව, කොතරම් ආහාර පාලනය කළත් ශරීරයේ තියෙන ස්ථූලතාවය සහ ඒ තුලින් හට ගන්නා සන්ධි ප්‍රදාහ, කොන්දේ වේදනාව, අතපය වේදනා, මාංශ පේශි තදවීම නිසා හට ගන්නා සියලු වාත වේදනා, අධික සෙම නිසා ශරීර අභ්‍යන්තර ඉන්ද්‍රියන්ගේ ක්‍රියාකාරීත්වය නිසි පරිදි සිද්ධ නොවීමෙන් හට ගන්නා ආසාදන, ආමාශය සහ බඩවැල් තුල ඇති අංගුලිකා නිසි පරිදි ක්‍රියාත්මක නොවීමෙන් ඇතිවෙන අජීර්ණ දෝස, ඒ තුලින් හට ගන්නා උණ, කැස්ස... ආදී රෝගත් සුව වෙනවා.

ඒ වගේම රක්ත උෂ්ණය නිසා හට ගන්නා සියලු ආබාධ, නිතර නිතර වැසිකිළි යාම, කකුල්වල යටි පතුල්, විලුඹ පිපිරීම නිසා හට ගන්නා ආසාදන, ඇඟිලිකරු පිපිරීම, උෂ්ණ ආහාර ගැනීම නිසා ඇතිවෙන අපත්‍ය වීම, අධි රුධිර පීඩනය, අව රුධිර පීඩනය... ආදී සියලු රෝගයන් සහ සියලු ගර්භාෂගත රෝග, ඔසප් වේදනා, ඩිම්බ ආශ්‍රිත රෝග, දරු එල නොමැති වීම, පැලෝපීය නාලවල ඇතිවන අවහිරතා, ඇඟ උණු කරවා යාම ආදී රෝග තත්වයන් සුව කරනවා.

ශරීරයේ ඉන්ද්‍රිය පද්ධතිවල සිව් වේළීමෙන් හට ගන්නා සියලු රෝගාබාධ, සම වේළීම, තොල් වේළීම, නිසි පරිදි බේටය නිෂ්පාදනය නොවීම, උගුරේ ස්වර තන්ත්‍ර වේළීම, **වකුගඩු තුල තියෙන වෘක්කාණු පටල වේළීම නිසා හට ගන්නා වකුගඩු අක්‍රිය වීම ඇතුළු වකුගඩු ආබාධ,** සිව් වේළීම වහා සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. **දියවැඩියාව කියන රෝගී තත්වය අග්න්‍යාශයේ අක්‍රියතාවය නිසා සිදුවී ඇත්නම් ඒ සඳහාත් ප්‍රත්‍යක්ෂයි.** පාකින්සන්, තැලසීමියා රෝගවලට ප්‍රබලව ගුණ දෙනවා.

## වකුගඩු ප්‍රකෘති ආධාරක අරිෂ්ටය

මේ අරිෂ්ටය වකුගඩු රෝගීන් සඳහා පමණයි. වකුගඩු අක්‍රිය වීමත් සමගම රුධිරයේ අපද්‍රව්‍ය ප්‍රමාණය ඉහල යනවා. ඒ කාරණය කෙලින්ම බලපාන්නෙ හදවතට. වකුගඩුව මගින් ප්‍රධාන වශයෙන් රුධිරයේ ඇති අපද්‍රව්‍ය ඉවත් කිරීමත් ශරීරයට අවශ්‍ය සංඝටක ඒ අවශ්‍ය මට්ටමින් පවත්වාගෙන යාමත් සිද්ධ කරනවා. ආහාර මගින් දියරමය වශයෙන් රුධිරයට එකතු වන සියලු දෑ පාලනය කරමින් ශරීරයට අවශ්‍ය සියල්ල අවශෝෂණය කරගෙන ඉතිරි සියල්ල ක්‍රමානුකූලව බැහැර කරනවා. වකුගඩුවක් අක්‍රිය වුනාම හෝ අක්‍රිය වෙන්න පටන් ගත්තම ක්‍රියැටිනින්, යූරියා, පොටෑසියම්... ආදී සංඝටක රුධිරයට දරාගන්න පුළුවන් මට්ටම ඉක්මවා එකතු වෙනවා. ඒ හේතුවෙන් රුධිරය පිරිසිදු කරන්න හදවත වැඩි වාර ගණනක් ක්‍රියාත්මක වෙමින් පෙණහළු කරා වහ වහා රුධිරය ගමන් කරවනවා. ඒකෙ ප්‍රතිඵලයක් විදිහට අධි රුධිර පීඩනයක් ඇති වෙනවා. පපුවට මහන්සි ගතියක් දැනෙනවා. ක්‍රියැටිනින් කියන අපද්‍රව්‍යය රුධිරයේ වැඩිපුර එකතු වීම නිසා තමයි එහෙම වෙන්නෙ. ඒකෙන් හදවත දුර්වල වෙනවා, ප්‍රදාහයට පත් වෙනවා. ඒ වගේ අවස්ථාවක රුධිරයේ තියෙන ක්‍රියැටිනින් අවශ්‍ය මට්ටමට පත් කර ගැනීම සඳහා මේ අරිෂ්ටය වහා ක්‍රියා කරනවා.

ඒ වගේම මේකෙ තියෙන වැදගත්ම ක්‍රියාවලිය තමයි ඝන හෝ දියර ආහාර ඔස්සේ රුධිරයට එකතු වෙන ක්‍රියැටිනින් ශරීරයට අවශෝෂණය නවතා දැමීම. ඒකෙන් හදවතට රැකවරණයකුත් ලැබෙනවා. අනෙකුත් බෙහෙත් ප්‍රත්‍ය වෙන්නත් ප්‍රබලව බලපානවා. මේ තමයි ඒ අරිෂ්ටය හදාගන්නා ආකාරය

බෝ පොතු, මිදෙල්ල පොතු, කලාඳුරු අල, වල්දෙල් මුල් සමව අරගෙන (එකකින් ග්‍රෑම් 250 ක් පමණ) වතුර බෝතල් 20 ක් දමා 16 ට හිඳගන්න. ඒකට ඇට ඇරපු රටඉඳි කිලෝ 3 ක් එකතු කරල පැහෙන්න මුට්ටියක හෝ කනක්කයක දාල සම්පූර්ණයෙන් මුද්‍රා නොතබා පිරිසිදු සුදු රෙදි කඩක් හෝ මැටි වළඳක් වගේ දෙයකින් වහල දින 21 ක් පොළව යට තියන්න. ඉන්පසු හොඳින් පෙරාගෙන ප්ලාස්ටික් හෝ ඇළුමිනියම් නොවන වෙනත් සුදුසු භාජනයකට එකතු කරගන්න.

දවසට 3 වරක් මේස හැඳි 1 1/2 - 2 ක් අතර ප්‍රමාණයක් කෑමට පෙර මාස 6 ක් හෝ සුව වෙනකල් ගන්න.

(සැ.යු.:බෝපොතුගන්නකොටකිසි විටෙකත් වැඳුම් පිදුම් කරන බෝධිවලින් නොගන්න වග බලාගත යුතුයි. ඒ සඳහා කැලේ තියෙන, වැව්, ගංගා අසබඩ තියෙන කාක බෝ ගස් භාවිතා කරන්න. ඒ වගේම ගොඩනැගිලිවල බිත්තිවලට සම්බන්ධ වෙලා හැදිල තියෙන කාක බෝ ගස් මේ සඳහා යොදා ගන්න බෑ. මොකද ඒවායේ අවශ්‍ය ඖෂධ ශක්තිය නෑ. ඒ නිසා මහ පොළවට සම්බන්ධ වෙලා තියෙන ගස් යොදා ගත යුතුයි.)

## මුත්‍රා ආසාදන නිසා, මුත්‍රා පහ නොකර සිටීම නිසා සහ වකුගඩු අකර්මණ්‍යතාවය නිසා හට ගන්නා මුත්‍රා අඩස්සියට

කුරුම්බා ඇට්ටියක වතුර පතකට (අඩු කෝප්ප 3/4 ක්) පැණි බැබිල, ගොතටු, නීරමුල්ලි වෙන වෙනම කොටාගෙන ඉස්ම මේස හැන්ද බැගින් එකතු කරල, මී පැණි මේස හැන්දක් සහ මව්කිරි මේස හැන්දක් එකතු කරල බීමට දෙන්න. වහා සුව වෙනවා. නිරන්තර බඩේ කොරයට උදේ, දවල්, රාත්‍රී තුන් වතාවයි. (පැණි බැබිල, ගොතටු සහ නීරමුල්ලිය බෙහෙත් බඩු වෙළඳසැල්වලින් මිලදී ගන්න පුළුවන්. වියළි ඒවා ගත්තොත් ග්‍රෑම් 30 කට වතුර මි. ලී. 75 ක් අනුපාතයට මිශ්‍ර කරල කොටාගෙන ඉස්ම ගත යුතුයි. අමු ඒවා ගත්තොත් වතුර දාන්න අවශ්‍ය නෑ.)

## සියලු හන්දිපත් වේදනා, වාත වේදනා, මාංශ පේශි තුල ඇතිවන සියලු වේදනා කැක්කුම් දුරු කිරීම සඳහා

කොට්ට පොල්, අමු කහ, සුදු ළූණු, උළු හාල්, එඬරු කොළ, නික කොළ, ඊතණ, බැලතණ, පුවක් කොළ, කලාඳුරු අල.

මේ අමුද්‍රව්‍ය සමව අරගෙන කොටාගෙන තල තෙල්වලින් තෙල් ගතිය හිටින මට්ටමට විතරක් මලවල පොට්ටනි 2 ක් හෝ 4 ක් (ඉරට්ටේ සංඛ්‍යාවක්) විදිහට බැඳල වණ්ඩුවේ තම්බගෙන වේදනා කැක්කුම් ඇති තැන්වල උදේ හවස තවන්න. එක පොට්ටනියක් තුන් වේලක් වණ්ඩුවේ තම්බගෙන පාවිච්චි කරන්න පුළුවන්.

**උෂ්ණාධික ආහාර ගැනීම නිසා, දූළඹුවන් ආදී සතුන් සහ කහඹිලිය, වණබඳුල්ල... ආදිය ගෑවීම නිසා සම මතු පිට ඇතිවන සියලු ආසාත්මිකතා මග හැරවීම සඳහා**

ඉදිච්ච නැති මෝරපු පුවක් කොළයක් හොඳින් කොටාගෙන, පොල් කටු කිහිපයක් පත්තු කිරීමෙන් ගිනි නොගන්න මට්ටමේදී එන දුමට, කොටා ගත්ත පුවක් කොළය අල්ලන්න. ඒ එන දුම ශරීරයේ කසන, දැවිලි තියෙන, පළු දමා ඇති සියලු තැන්වලට විනාඩි 4 ක් පමණ හොඳින් අල්ලන්න. එක් වරක් ඇල්ලීම ප්‍රමාණවත්. නිට්ටාවට සුව වෙනවා.

**කාන්තාවන්ට මාසික සුද්දියේදී ඇතිවෙන බඩේ කැක්කුම සඳහා**

අමු ඉඟුරු, සුදු ළූණු, කොට කිඹුලා දළු කලං 6 බැගින් අරගෙන හොඳින් කොටාගෙන ඒ සියල්ල අඟල් 9 කට වැඩි කොට කිඹුලා කොළ 7 ක ඔතාගෙන උණු අළු පල්ලෙ විනාඩි 30 ක් පමණ තියල තම්බ ගන්න. ඉන්පසු ඒකට වතුර දාන්නෙ නැතිව මිරිකගෙන නිවුනට පසු දෙහි ඇඹුල් මේස හැන්දක් එකතු කරල වේදනාව දැනෙන පළමු අවස්ථාවෙදි තේ හැඳි 1 යි, ඉන්පසු පැය 4 කින් තේ හැඳි 1 යි, ඉන්පසු තවත් පැය 6 කින් තේ හැඳි 1 යි ගන්න. තුන් වතාවයි. නිට්ටාවට සුව වෙනවා.

**සටහන**

**නිතිඥ චන්දන සිරිවර්ධන**

# අරී සිතුම් සුවසෙත වෛද්‍ය සායනය



## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 90 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දයකත්වය**

■ පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ඩබ්. ඒ. තිළිණවතී මහත්මිය - කඩවත ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ප්‍රභාෂ්වර බණ්ඩාර මහතා, ඉසුරු සේනාරත්න මහතා - පිටකෝට්ටේ ■ ඩැනියෙල් වර්ණසූරිය මහතා - ගම්පහ ■ කසුන් රවිඳු සම්පත් මහතා - අලුත්ගම ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

**මූල්‍යමය දයකත්වය**

■ පතිරගේ ඉන්දික පෙරේරා මහතා, තත්යානා යුරේවනා මහත්මිය, පතිරගේ ආන්යා පෙරේරා සහ පතිරගේ පලීනා පෙරේරා යන දියණියන් - නැදිමාල - රු. 90,000/- ■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, ෂෙලෝමි දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රු ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 31,380/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දඳිගම මහත්මිය - ඇමරිකාව - රු. 23,800/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ ලසන්ත බණ්ඩාර මහතා - ඇතුල්කෝට්ටේ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,850/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, අශෝක ජයසේකර මහතා සහ චන්ද්‍රා ජයසේකර මහත්මිය - මාතලේ, සසික රත්නායක මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල - රු. 7,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්දි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ දිනේෂ ලියනගේ මහතා, ඔල්ගා ලියනගේ මහත්මිය, තේමික ලියනගේ, ලිතුලි ලියනගේ, තිසරි ලියනගේ යන දරුවන් - මහර - රු. 5,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පිරිස - තිහාරිය -

රු. 5,000/- ■ හර්ෂනී සිරිවර්ධන මහත්මිය ඇතුළු පවුලේ සැම - ගාල්ල - රු. 5,000/- ■ සිරී කටුපේආරච්චි මහතා සහ කුසුම් කටුපේආරච්චි මහත්මිය - ඇමරිකාව - රු. 5,000/- ■ සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - අත්තනගල්ල - රු. 5,000/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 4,400/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 4,400/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,550/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්ද්‍යා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාශා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ අසේල දික්කුඹුර මහතා - ඇමරිකාව - රු. 3,550/- ■ සමන්ත දියෝගබඳු මහතා, ගයනි ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබඳු පුතා, ඩිලාරා දියෝගබඳු දුව - ඩුබායි - රු. 3,500/- ■ ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය සහ අකීෂා සමරවීර දුව - නුගේගොඩ - රු. 3,500/- ■ අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය - නුගේගොඩ - රු. 3,500/- ■ ජී. ඒ. බෙනට් මහතා සහ ජී. එච්. ටී. චන්ද්‍රාවතී මහත්මිය - කළුතර - රු. 3,500/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ රෝෂණ උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රදින් රාහුල් උමගිලිය පුතා සහ ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ සී. එම්. බාලමැණිකේ මහත්මිය - හඟුරන්කෙත - රු. 3,000/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,700/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ එරන්දතී සඳසීලි මහත්මිය - නිට්ටඹුව - රු. 2,500/- ■ පූජ්‍ය නුගේගොඩ සුධම්ම හිමි - අරියචිත්ත විවේක සෙනසුන, පොල්ගහවෙල - රු. 2,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 2,000/- ■ පියසීලි සේනානායක මහත්මිය - හොරණ - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ පී. රුවීනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ උදේශා සංජීවනී මෙනවිය - යක්කල - රු. 2,000/- ■ කසුන් ජයකොඩි මහතා - දෙඩම්ගොඩ - රු. 2,000/- ■ දිල්හාර වික්‍රමාරච්චි මහතා - නෙළුම්දෙනිය - රු. 2,000/- ■ ශසිකා විජේසිංහ මහත්මිය - හෙරලියාව - රු. 2,000/- ■ ජනක කුමාර මහතා - ඇමරිකාව - රු. 1,800/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා සහ කේ. ඩග්ලස් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ හසිත බස්නායක මහතා - යක්කල - රු. 1,500/- ■ සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය සහ සසිඳු චානක ජයවික්‍රම මහතා - ගම්පහ - රු. 1,300/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,200/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුළපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර - රු. 1,000/- ■ කේ. ඒ. දුල්නිත නිසිඳු කුමාර පුතා - පාදුක්ක - රු. 1,000/- ■ මාලිනී බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ ඉන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය - වෙලගෙදර - රු. 1,000/- ■ ඩී. ටී. ඒ. ගුණතිලක මහතා - වෙලගෙදර - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ ඒ. දිලාන් නුවන් පුතා - ස්කොට්ලන්තය - රු. 1,000/- ■ ඩබ්. ඒ. එස්. සෙනෙහෙලතා මහත්මිය, එම්. එල්. එම්. සුමනසූරිය මහතා, එම්. එල්. එම්. දර්ශන මධුශංක මහතා සහ එම්. එල්. එම්. සසිඳු දුල්සිත පුතා - වේවැල්දෙනිය - රු. 1,000/- ■ සුනීතා මහත්මිය සහ ජයතිලක මහතා - යටත්තාවල - රු. 1,000/- ■ විනීතා කැකුලාවල මෙනවිය - කඳන්ගමුව - රු. 1,000/- ■ ඩබ්. එල්. දුමින්ද සිසිර කුමාර මහතා - කරස්නාගල - රු. 1,000/- ■ නලින් දිනේෂ් ජයකොඩි මහතා - නිට්ටඹුව - රු. 1,000/- ■ වික්ටර් වික්‍රමගේ මහතා - කුකුල්පනේ - රු. 1,000/- ■ ඩබ්. ජී. කරුණාරත්න මහතා - මාතලේ - රු. 1,000/- ■ කුසුමා මැණිකේ වීරකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ■ කේ. ජී. ඒ. දයාරත්න මහතා සහ එච්. එම්. ස්වර්ණා මහත්මිය - පානදුර - රු. 1,000/- ■ ක්‍රිෂානි ගුණසේකර මහත්මිය - මාලබේ - රු. 1,000/- ■ ඩී. මාලනී ලංකේශ්වර මහත්මිය - බෙන්තොට - රු. 1,000/- ■ ඒ. ඒ. වින්දයා නිර්මාණි දුව - රදවාන - රු. 1,000/- ■ පූජ්‍ය බිම්පොකුණේ සීලවංශ හිමි, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, නිලන්ති දබරේ මහත්මිය - පිටකෝට්ටේ, සමන්තා දිලීප මහත්මිය - දිවුලපිටිය, සීතා වරකාගොඩ මහත්මිය - හේනෙගම, ලක්ෂිකා සංජීවනී මහත්මිය - මිනුවන්ගොඩ, ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ, පී. ඩී. සිරිසේන මහතා සහ පී. ඩී. නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ, ප්‍රියන්ති රණසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - මීගොඩ, ජී. ඒ. නිමල් මහතා - රන්පොකුණගම, චන්ද්‍රානි දිසානායක මහත්මිය - නිට්ටඹුව, මහේෂ් සුරංග මහතා - රදවාන - එකතුව - රු. 8,980/-, විවිධ පින්වතුන් විසින් ලබා දුන් පරිත්‍යාග - රු. 2,835/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 495,095/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 12,080/- ■ සම්පූර්ණ වියදම - රු. 407,330/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.15/- ■ ඉතිරි ආධාර මුදල් සහ සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com   webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා 2 වන සහ 4 වන සෙනසුරාද භාවනා වැඩසටහන් පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිදිවැල. 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ සමනල පොත්හළ - නෙළුව - 071 2837757 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 071 8261500 / 066 2245353 ■ චන්දුල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් , අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ ශෛල පබ්බතාරාමය, ගිජිදගම, පොල්ගහවෙල - 071 212 5880 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# හිසකේ විකුණා දන් දුන් කත...

මහ කච්චාන තෙරණුවෝ පිඬු සිඟා යති
සහයට සත් නමකි කෙලෙසුන් නසා ඇති
යහ ගුණ පිරි ළඳකි එහි සතු මනා ගති
පැහැ දුනි සිත පුදට කිසිවක් අතේ නැති

එනමුදු හිමිගෙ දෙපතුල අභියසෙහි වැටී
සුපුරුදු මුදු හඬින් මෙපරිදි අයැද සිටී
පිරිසිදු පැතුම හදවත තුල තිබුන ගැටී
හිමි සඳු දනට මගෙ ගෙපැළට වඩිනු වටී

දිලිඳුය නමුදු ඇය සිටු පවුලක දුවකි
තුරුණුය පියකරුය මන බඳවන රුවකි
මහරුය කෙස් කළඹ වෙසෙසින් දිගු බවකි
මහලුය තනි නොතනියට සිටි කිරි මවකි

ධනවත් සිටු දුවක ඇගෙ යෙහෙළියක් වුනා
එනමුත් හිමි නොවුනි එළඳට රුවක් මනා
මුහුණත් කළුය නැත දිගු වරලසක් දිනා
සැප අත් වුවද කරුණකි එය දුකක් ගෙනා

තම හට නැති දෙයක් අනුනට ඇතැයි කියා
අසතුට වඩනු කිම දුක හදවතෙහි තියා
යෙහෙළිට හිමි වූ වරලස නැති කරන නියා
මිලයට ගනු පිණිස ඇගෙ සිත නොමග ගියා

මසුරන් දහසකට වරලස මිල කෙරුනා
හරසුන් අදහසකි යෙහෙළිය කල කිරුනා
විගසින් දනක් දිය යුතු බව සිත ගැටුනා
සියතින් කෙස් කළඹ සිඳ ඇය වෙත යැවුනා

කිරි මව අතට දුනි ඇය කෙස් කළඹ කපා
පිරි හද සොවින් සිටු දුව වෙත ඇදුනි දෙපා
හරි මිල නොදුනි අට මසුවකි බලනු උපා
බැරි කම නිසා නොවැ කෙළෙසද කියනු එපා

මසු එක බැගින් මසු අට ඇය අටට බෙදා
ඔසු මුසු රස අහර පිස අට නමට පුදා
පසු විය ගෙතුලැ අහිමිව කෙස් කළඹ සදා
ඇසු අනු මෙවැනි බණ තිබු පෙර පරිදි විදා

රජු හට එනුවරෙහි එපුවත කන වැකුනා
හනිකට සිටු දුවව රජු හට මුණ ගැහුනා
සිරුරට ඇගෙ හැඩට ගුණයට සිත බැඳුනා
මොනවට තුටුව ඇය අග මෙහෙසිය කෙරුනා

(ධම්මපදට්ඨ කතා ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# හොඳ දේ කෙටි කලකි ලොව තුළ පවතින්නේ...



පවතින විටදී නැත දහමට වැඩි    අගය
ගෙව ගෙව සසර දුගතිය නම් අත    ළඟය
නිවනෙහි සොබ තවම හඳුනා නැති    වගය
භව දුක නොමැත කෙළවර තව බොහො    දිගය

පස්කම් සැපට ගිජු වන ඉඩ වැඩිය    ලොවේ
දොස් ඉන් නැගී සත වැඩිපුර ගැලෙති    පවේ
දිස් වෙන විටදී නොගතොත් සත් දහම    භවේ
වස් කප් ගණන් යන තෙක් සැනසුමද    නොවේ

අසුරක් ගහන මොහොතක දිස්වෙන    දුලබ
දහමක් ඇත නිවෙන මියගියහොත්    නොලැබ
කලෙකත් නොමැත එළියක් අඳුරයි    සුලබ
සැපයක් නොවේ විසුවොත් ලොව වෙත    එළඹ

කළු ගල් උඩට විත් මිණි කැට යටට    යති
රළුවට තිබෙන ලොව දිගු කල් දිවෙනු    ඇති
අළු යට ගිනි ගොඩකි ලෝ සත නිවිල    නැති
දළු ලන ඉඩකඩම හැම මොහොතකම    වෙති

හර සුන් දෙයින් පිරී ලොව සත නිසිය    සිතා
බර තව ගොඩ ගසයි මතුවට සැපත    පතා
දුර දිග ගියොත් අල්වාගෙන නොදැක    යතා
පෙරහර ගොසින් ඉවරයි සත් දහම    නැතා

උතුමන් නිහඬවම තම යුතුකම    සපුරා
නිවනින් නිවෙන විට සිරි සදහම    වපුරා
දුදනන් සසුන තුල ඉඳ ගුණ දම    නොපුරා
සදමින් භව ගමන කර ගන්නව    නපුරා

මඳමය සතුන් තුන් ලොව දිනනට    යන්නේ
අඳ බව මුසුවමයි වැඩිපුර    ගැවසෙන්නේ
නිදහස දෙන දහම දුලභව මතු    වන්නේ
හොඳ දේ කෙටි කලකි ලොව තුල    පවතින්නේ

දින දින ගෙවෙන දිවි බිඳු වැඩි කල්    නොගෙන
පණ නල හැර තවත් තැනකට යයි    රැගෙන
එනමුදු නොමැති නම් ලොව නිසි තතු    හැඳින
පැන පැන අසහනය එයි මනසට    පෙළෙන

ගණඳුර රජ කරන කාලෙක පහල    වන
නැණ ගුණ නුවණ ඇති සුදනන් දහම    දැන
දෙන විට මෙත් සිතින් සත හට නිවෙන    බණ
පණ යන කල් නොසිට අහගනු සිහිය    ගෙන

ඇසි පිය හෙළන උපමාවකි ගෙන    දුන්න
නිසි නැත එතරමටවත් හොඳ ලෙස    ගන්න
රිසි ලෙස නොපවතින ලොව තුල තව    ඉන්න
කිසි විට නොපත ඉනු මතු හැක    සැනසෙන්න

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1090 RS.25.00
HELA BODHU PIYUMA 90

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.